# බුද්ධ ධර්මය

## 4 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය



ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

## අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලය විසින් අනුමත කරන ලද ගුරු වන්දනා ගාථාව සහ අධිෂ්ඨාන පද්‍යය

### ගුරු වන්දනා ගාථාව

ඕවාද සිප්ප දානේන
සික්ඛාපේති මමං ගරු
සගාරවේන චිත්තේන
අහං වන්දාමි තං ගරුං

ඔවා සිප් දීමෙන
මා හික්මවන පේමෙන
ඇදුරු හද බැතියෙන
වඳිම් ගුරු සිත පෙරටු කරමින

### පාසල් උදෑසන රැස්වීම අවසානයේ කෙරෙන අධිෂ්ඨානය

තෙරුවන පුදා සිහිකර මාපිය දෙදෙන
ගුරු සිත දිනා ඔප කර ගෙන ගුණ නුවණ
කරමින සබා විදුහල් මැණිගෙ සිහින
සුරකිම් සදා මගෙ රට ජාතිය සසුන

රචක: පූජ්‍ය ගන්තුනේ අස්සජී හිමි

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය :**

**පී. එන්. අයිලප්පෙරුම**

අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි**

අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**

**ඩී. එම්. ජයන්ත පුෂ්පකුමාර**

නියෝජ්‍ය කොමසාරිස් (පාලන)

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**උපදේශක මණ්ඩලය :**

1. **අතිපූජ්‍ය ගන්තුනේ අස්සජී මහානායක ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික කථිකාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

2. **ආචාර්ය පූජ්‍ය මාඹුල්ගොඩ සුමනරතන ස්වාමීන් වහන්සේ**
   නියෝජ්‍ය අධ්‍යක්ෂ ජනරාල්, ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

3. **එස්. බී. එම්. නිමල් ධර්මසිරි**
   අධ්‍යක්ෂ, ආගමික හා සාරධර්ම අංශය, අධ්‍යාපන අමාත්‍යාංශය

**සිංහල භාෂා සංස්කරණය :**

**අයි. රංජිත්**

අධ්‍යක්ෂ (හිටපු)

ග්‍රන්ථ සංවර්ධන මණ්ඩලය

අධ්‍යාපන අමාත්‍යාංශය

## සංස්කාරක මණ්ඩලය :

1. **පූජ්‍ය කොටනෙළුවේ පුඤ්ඤානන්ද ස්වාමීන් වහන්සේ**
   සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ, පිරිවෙන් අධ්‍යාපන ශාඛාව
   අධ්‍යාපන අමාත්‍යාංශය

2. **පූජ්‍ය උඩුගම සුදස්සි ස්වාමීන් වහන්සේ**
   දෙපාර්තමේන්තු ප්‍රධානී, ආගම් හා සාරධර්ම අධ්‍යාපන දෙපාර්තමේන්තුව,
   ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

3. **ඒ. ඩී. බාලපටබැඳිගේ**
   සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ, ප්‍රාථමික අධ්‍යාපන ශාඛාව, අධ්‍යාපන අමාත්‍යාංශය

## ලේඛක මණ්ඩලය :

1. **පූජ්‍ය දමන සුගතධම්ම ස්වාමීන් වහන්සේ**
   කථිකාචාර්ය, හාපිටිගම් ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය

2. **ආර්. එච්. දීපිකා පෙරේරා**
   ගුරු සේවය, බප/ ජය ධර්මාශෝක කනිෂ්ඨ විද්‍යාලය

3. **චන්ද්‍රිකා අඹේපිටිය**
   විශ්‍රාමික උපගුරු, කො/ දේවි බාලිකා විද්‍යාලය

## චිත්‍ර සහ පිටකවර නිර්මාණය :

**ඩබ්. පී. එස්. ජයශාන්ත පෙරේරා**

## පරිගණක ගත කිරීම සහ පිටු නිර්මාණය :

**පී. ඒ. ශයිනි ඉමල්ෂා විජේවර්ධන**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

# 1 සිදුහත් කුමරු පෙර නිමිති දැකීම

මග දෙපස ඇති තුරුලතා මල්වලින් බර වී ඇත. කුරුලු නාද දසතින් නැගෙයි. සිදුහත් කුමරු මග දෙපස සිරි නරඹමින් ඡන්න ඇමැති සමග උයන කරා යන අතර සැරමිටියක් ගෙන ගමන් කරන මිනිසකු දකියි.



| | | |
|---|---|---|
| සිදුහත් කුමරු | : | ඡන්න අර කවුද? |
| ඡන්න | : | ඒ මහල්ලෙක්, ස්වාමීනි. |
| සිදුහත් කුමරු | : | මහල්ලෙක්? ඒ කවුද? |
| ඡන්න | : | වයසට ගිය මහලු බවට පත් වූ කෙනෙක් ස්වාමීනි. මෙලොව උපන් හැම දෙනා ම මේ වගේ මහලු වියට පත් වෙනවා. එසේ නොවන කිසිවෙක් නැහැ. |
| සිදුහත් කුමරු | : | මේ මමත්, ඔබත්, යසෝදරා දේවියත් එසේ මහලු වෙනවා ද? |
| ඡන්න | : | එහෙමයි ස්වාමීනි, මේ කළු පාට කෙස් කළඹ සුදු පාට වෙනවා. ලස්සනට තිබෙන ශරීරය අවලස්සන වෙනවා. හම රැලි වැටෙනවා; අත පයත් දුර්වල වෙනවා. |

| | | |
|---|---|---|
| සිදුහත් කුමරු | : | ඡන්න, එසේ නම් උයන් කෙළියට ගොස් විනෝද වීමේ තේරුමක් නෑ නේද? |
| ඡන්න | : | එසේ නොසිතන්න ස්වාමීනි, ඔබ තාම තරුණයි. |
| සිදුහත් කුමරු | : | නැහැ ඡන්න, මට අද උයනට යන්න හිතක් නැහැ. අපි නැවත මාලිගයට යමු. |



සිදුහත් කුමරු නැවත දිනක ඡන්න සමග උයන් කෙළියට යන අතරමග දී, රෝගයකින් පීඩිතව වේදනාවෙන් හඬන කෙනකු දුටුවේ ය.

| | | |
|---|---|---|
| සිදුහත් කුමරු | : | ඡන්න, අර මිනිසා හඬන්නේ ඇයි? |
| ඡන්න | : | ඒ මිනිසා ලෙඩ වෙලා ස්වාමීනි. |
| සිදුහත් කුමරු | : | අපිත් ඒ වගේ ලෙඩ වෙනවා ද? |
| ඡන්න | : | එසේ ය, ස්වාමීනි. |
| සිදුහත් කුමරු | : | ලෙඩ වෙන්නේ කවදා ද? |
| ඡන්න | : | අපි ඕනෑ ම මොහොතක ලෙඩ වෙන්න පුළුවන්. |
| සිදුහත් කුමරු | : | මේ දැන් වුණත් මමත් ලෙඩ වෙන්න පුළුවන් ද ඡන්න? |

ඡන්න : එසේ ය ස්වාමීනි. මේ දැන් වුණත් ඔබ වහන්සේත්, මමත් ලෙඩ වෙන්න පුළුවන්.

සිදුහත් කුමරු : එහෙනම්, මේ යන ගමනින් පලක් නෑ. අපි ආපසු මාලිගයට යමු.

ඡන්න : එසේ නොසිතන්න ස්වාමීනි, මාලිගාවේ රාජකීය වෙදැදුරන් සිටිනවා.

සිදුහත් කුමරු : ඒ අයට පුළුවන් ද ලෙඩ වීම නැති කරන්න?

ඡන්න : නැත ස්වාමීනි, ඒ අයට පුළුවන් වෙන්නේ ලෙඩ හැදුණු අයට බෙහෙත් කරන්න විතරයි.

සිදුහත් කුමරු : අපි ආපසු රජ මාලිගයට යමු ඡන්න.

තවත් දිනක උයන් කෙළියට යන විට කුමරු දුටුවේ මිනිසුන් කිහිප දෙනකු සුදු රෙදි කඩකින් ඔතා යමක් ඔසවාගෙන යන ආකාරයකි.



සිදුහත් කුමරු : ඡන්න, අර පිරිසක් ඔසවාගෙන යන්නේ කුමක් ද?

ඡන්න : ස්වාමීනි, ඒ මළ මිනියක්. මැරුණු කෙනකුගේ සිරුරක්.

| | | |
|---|---|---|
| සිදුහත් කුමරු | : | ගමන් කරන පිරිස අඬන්නේ ඇයි? ඒ යන්නේ කොහේ ද? |
| ඡන්න | : | ඒ අඬන්නේ මිය ගිය පුද්ගලයාගේ ඥාතීන්. මිය ගිය කෙනාට නැවත පණ දෙන්න බැහැ. ඒ නිසා මිනිය කැලේට දාන්න රැගෙන යනවා. |
| සිදුහත් කුමරු | : | ඡන්න, අපිත් ඒ වගේ මිය යනවා ද? |
| ඡන්න | : | එහෙමයි ස්වාමීනි, අපි හැමෝ ම මිය යනවා. |
| සිදුහත් කුමරු | : | සියලු දෙනා ම මෙසේ මිය යනවා නම් මරණය නැති කරන්න පුළුවන් මාර්ගයක් සෙවීම නේද වැදගත්?<br>ඡන්න, අපි අදත් උයන් කෙළියට නොගොසින් ආපසු යමු. |

සිවුවෙනි දින පෙර සේ ම උයන් කෙළියට යන සිදුහත් කුමරු ශාන්ත ගමනින් වැඩම කරන, සන්සුන් ඉඳුරන් ඇති කෙනකු දුටුවේ ය.



| | | |
|---|---|---|
| සිදුහත් කුමරු | : | අර කවුද ඡන්න? |
| ඡන්න | : | කුමරුනි, ඒ පැවිදි උතුමෙක්; |

මහලු වීම, ලෙඩ වීම, මරණය වැනි දුක් පීඩාවලින් මිදෙන්න උත්සාහ කරන උත්තමයෙක්.

සිදුහත් කුමරු : මොන තරම් සන්සුන් ගමනක් ද? මාත් ඒ වගේ කෙනෙක් වුණොත් මටත් පුළුවන් නේ ද මහලු වීමෙන්, ලෙඩ වීමෙන්, මරණයෙන්, ගැලවෙන්න?

ඡන්න : ඒකට බොහෝ ම මහන්සි වෙන්න ඕන ස්වාමීනි.

එදින සිද්ධාර්ථ කුමරු සිත සතුටින් උයනට ගියේ ය.

## ක්‍රියාකාරකම



1. සතර පෙර නිමිති පිළිවෙළින් ලියන්න.
2. උයන් කෙළියට ගිය සතරවන දා සිදුහත් කුමරු වඩාත් සතුටු වූයේ ඇයි දැයි ලියන්න.

# 2 කුමරු ගිහිගෙය හැර යයි

මහල්ලකු, ලෙඩකු සහ මළමිනියක් යන පෙර නිමිති දැකීමෙන් සංවේගයට පත්ව සිටි සිදුහත් කුමරු පැවිදි උතුමකු දැකීමෙන් සතුටට පත් විය; තමන් ද පැවිදි විය යුතු යැයි කල්පනා කළේ ය. කුමරා උයන් සිරි නරඹමින් සිටිය දී රජ මැදුරෙන් පණිවිඩයක් රැගෙන දූතයෙක් පැමිණියේ ය. එම පණිවිඩයෙන් කියැවුණේ යසෝදරා දේවියට පුත් කුමරකු ලැබුණු බව ය.

මේ පුවත ඇසීමත් සමග **"රාහුලයෙක් උපන්නා, බැඳීමක් ඇති වුණා"** යනුවෙන් කුමරුගේ මුවින් පිට විය.

රාජ සේවකයා එම පුවත සුද්ධෝදන රජතුමාට දැන්වූවේ ය. ඒ අනුව **රාහුල** යන නම පුංචි පුත් කුමාරයාට තබන ලදි.

උයනේ සිටි සිදුහත් කුමරු රජ මාලිගාව බලා පිටත් විය. පැවිදිවීමේ ආශාව නිසා කුමරුගේ මුහුණ ඉතා පියකරුව පෙනුණි. මග දෙපස සිටි ජනයා සිදුහත් කුමරුගේ ප්‍රසන්න මුහුණ දැක සතුටු වූහ.

කුමරු දැක සතුටු වූ කිසාගෝතමිය මෙසේ ප්‍රකාශ කළා ය.



**"නිබ්බුතා නූන සා මාතා**
**නිබ්බුතෝ නූන සෝ පිතා**
**නිබ්බුතා නූන සා නාරි**
**යස්සායං ඊදිසෝ පති"**

මෙවන් පුතකු ලද මවක්
මෙවන් පුතකු ලද පියෙක්
මෙවන් සැමියකු ලද බිරිඳක්
නිවුණා ම ය.

නිවීම යන වචනය ඇසීම නිසා ම කුමරුට පැවිදි වීමට තිබුණු ආශාව තවත් වැඩි විය. කිසාගෝතමියගේ වචනවලින් සතුටට පත් හෙතෙම තමන්ගේ ගෙල පැළඳි අගනා මුතුහර ඇයට තෑගි කළේ ය.

රජ මාලිගාවට පැමිණි සිදුහත් කුමරු එදා රාත්‍රියේ රාජකීය නැටුම් ශාලාවේ නාටිකාංගනාවන්ගේ නැටුම්, ගැයුම්, වැයුම් වෙන දා මෙන් නැරඹුවේ නැත. ඔහුට නින්ද ගියේ ය. කුමරු අවදි වන තුරු බලා සිටි නාටිකාංගනාවෝ ද ඒ ඒ තැන්වල ම නිඳන්නට වන්හ. මැදියම් රාත්‍රියේ දී සිදුහත් කුමරු අවදි විය; සුළු මොහොතකට පෙර සුරූපීව සිටි නාටිකාංගනාවන් විරූපී ඉරියව්වලින් තැන තැන වැටී නිඳන අයුරු දුටුවේ ය. ඒ මොහොතේ ම ගිහි ගෙය අතහැර යෑමට තීරණය කළ කුමරු, ඡන්න අමතා කන්ථක අසු සූදානම් කරන ලෙස නියම කළේ ය.



සිදුහත් කුමරු යහන් ගැබට ගොස් යසෝදරා දේවියගේ තුරුලෙහි නිදන රාහුල කුමරු දෙස බැලුවේ ය; තම පුතු වඩා ගැනීමට සිත් වුවත් දේවිය හා පුතු අවදි වුවහොත් ගමනට බාධාවක් වේ යැයි සිතුවේ ය. රජ සැප අතහැර දැමූ සිදුහත් කුමරු කන්ථක අසුපිට නැග ඡන්න ඇමැති සමගින් මාලිගාවෙන් පිටත් වුණේ ය. එය කුමරුගේ ගිහිගෙය හැර යෑමයි. මෙය **මහාභිනිෂ්ක්‍රමණය** ලෙස හැඳින්වෙයි. කුමරු එසේ කළේ සියලු සත්ත්වයන් සසර දුකින් මුදවා ගැනීමේ අධිෂ්ඨානයෙන් යුක්තවයි.

## ක්‍රියාකාරකම

**පිළිතුරු ලියන්න.**

1. යසෝදරා දේවියට පුත් කුමරකු ලැබුණු බව ඇසූ පසු සිදුහත් කුමරුගේ මුවින් පිට වූ ප්‍රකාශය කුමක් ද?
2. සිදුහත් කුමරු දුටු කිසාගෝතමී කීවේ මොනවා ද?
3. මහාභිනිෂ්ක්‍රමණය යනු කුමක් ද?

## පුහුණුවට

පාඩමේ සඳහන් ගාථාව බලා කියවීමට පුහුණු වන්න.

# 3 පැවිදි වූ බෝසතාණෝ සත්‍යය සොයා යති

එදා ඇසළ පුන් පෝය දිනයකි. සිදුහත් කුමරු ඡන්න ඇමැති සමග කන්ථක අසු පිට නැග අනෝමා ගං තෙර දක්වා ගමන් කළේ ය. අසු පිටින් බැස ගත් සිදුහත් කුමරු කඩුව අතට ගෙන තම කෙස් වැටිය කපා දැමුවේ ය.



"ඡන්න මේ අශ්වයාත් රාජ ආභරණත් පිය රජුට භාර දෙන්න. මා පැවිදි වූ බව දන්වන්න," යනුවෙන් කුමරු ඡන්නට ප්‍රකාශ කළේ ය.

ඉන්පසු සිදුහත් කුමරු ඝටීකාර නම් බ්‍රහ්මයා විසින් පිළිගන්වන ලද සිවුරු පිරිකර භාර ගෙන පැවිදි වෙස් ගත්තේ ය. ඒ මොහොතේ තම ස්වාමියා අතහැර යන්නට අකැමැති වූ කන්ථක අසුට ශෝකය දරා ගැනීමට බැරි විය. අසු ළය පැලී මරණයට පත් විය.

පැවිදි වූ සිදුහත් බෝසත් තවුසාණෝ අනෝමා ගඟ අසල අනුපිය නම් අඹ වනයෙහි සතියක් කල් ගත කළහ. මේ කාලයේ උන්වහන්සේ ආහාර පිණිස පිඬු සිඟා වැඩියහ. සත්‍යය සොයා යන සිදුහත් තවුසාණන්ට භග්ගව තවුසා හමු විය. ඔහුගේ ධර්මය ඉක්මනින් ඉගෙන ගත් සිදුහත් තාපසතුමා විශාලා මහනුවර ආළාරකාලාම තවුසා වෙත පැමිණියේ ය; එහි දී ආළාරකාලාම තවුසා දැන සිටි ධර්මය ද ඉක්මනින් ම ඉගෙන අවසන් කළේ ය.

ඉන්පසු උද්දකරාමපුත්ත තවුසා වෙත පැමිණි සිදුහත් තාපසතුමා, ඔහු දැන සිටි ධර්මය ද ඉක්මනින් ම ඉගෙන ගත්තේ ය.

ඔවුන්ගේ ධර්මයන් තුළ තමා සොයන සත්‍ය ධර්මය නොමැති බව සිදුහත් තවුසාණන්ට වටහා ගත හැකි විය.

පසුව සිදුහත් තාපසතුමා උරුවෙල් ජනපදයේ සේනානි නම් නියම් ගමට පැමිණියේ ය. එහි නේරංජරා නම් ගඟ අසල වන ලැහැබක් විය. එතුමා එහි නැවතී සත්‍යය සෙවීම සඳහා එකල පිළිගත් තවුස්දම් පුරන්නට පටන් ගත්තේ ය.

## ක්‍රියාකාරකම

**වරහන් තුළ දී ඇති වචන යොදා හිස්තැන් පුරවන්න.**

1. සිදුහත් කුමරු ගිහි ගෙය හැර ගියේ ......................... පෝය දිනක ය.
2. සිදුහත් කුමරුට තාපස වෙස් ගැනීමට සිවුරු පිරිකර පූජා කළේ ............................ බ්‍රහ්මයා ය.
3. සිදුහත් තාපසතුමා ............................ වනයෙහි සතියක් කල් ගෙවී ය.
4. සිදුහත් තාපසතුමා සත්‍යය සොයා ................................ සහ ................................ තවුසන් වෙත ගියේ ය.
5. සිදුහත් තාපසතුමා සත්‍ය සොයා ........................... පුරන්නට විය.

**(තවුස්දම්/ ඝටීකාර/ උද්දකරාමපුත්ත/ අනුපිය අඹ/ ඇසළ/ ආළාරකාලාම)**

# 4 බෝසතාණෝ බුදු බවට පත් වෙති

සිදුහත් බෝසතාණන් වහන්සේ ශරීරයට දුක් දෙමින් තවුස්දම් පුරන කාලයේ උපස්ථාන කිරීමට කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම සහ අස්සජි නමින් තාපසවරු පස් දෙනෙක් සිටියහ. ඔවුහු පස්වග මහණුන් ලෙස ද හැඳින්වෙති.

බෝසත් සිදුහත් කුමරු දුකින් මිදීමේ මග සොයන බව හඳුනාගත් තාපසවරු සතුටින් උදවු කළහ. පිඬු සිඟා ආහාර ලබා ගත් සිදුහත් තවුසාණෝ ක්‍රමයෙන් එය අඩු කළහ. වනයේ තිබූ අල, ගෙඩි, කොළ, පොතු ආහාර ලෙස ගත්හ. ක්‍රමයෙන් ආහාර ගැනීම අඩු කළ පසු උන්වහන්සේගේ ශරීරය කෙට්ටු විය; ශක්තිය හීන විය; ඇඟ දුර්වල වී දුර්වර්ණ විය; නිතර සිහි මූර්ඡා විය.

සිදුහත් තාපසතුමා සිහි මූර්ඡා වී සිටිනු දුටු ඇතැම් දෙවිවරු එතුමා මියගිය බව ප්‍රකාශ කළහ. ඇතැමුන් ප්‍රකාශ කළේ එතුමා තව ම මියගොස් නැතත් පසුව මියයනු ඇති බවයි. ඇතැමෙක් එතුමා රහත් වී ඇතැයි පැවසූහ.

සිරුරට දුක් දීමෙන් තමා සොයන විමුක්තිය ලැබිය නොහැකි බව බෝසතාණන් වහන්සේට අවබෝධ විය. ඉන්පසු ශරීරය පවත්වා ගැනීමට ප්‍රමාණවත් තරමින් ආහාර ගැනීමට උන්වහන්සේ පෙළඹුණහ; දුෂ්කර තපස් ක්‍රම අතහැර නැවත පිඬු සිඟා වැඩියහ.

තම ශරීරයට දැඩි සේ දුක් දීමෙන්වත් දැඩි සේ සැප දීමෙන්වත් තමන් සොයන විමුක්තිය ලැබිය නොහැකි බව උන්වහන්සේ තේරුම් ගත්හ. ඉන්පසු උන්වහන්සේ අනුගමනය කළ ප්‍රතිපදාව **මැදුම් පිළිවෙත** නම් විය. එම අවස්ථාවේ පස්වග තාපසවරු, "මොහු දැන් දුෂ්කර ක්‍රියාව අතහැරි නිසා බුදු වන්නේ නැතැ," යි ප්‍රකාශ කර බෝසතාණන් වහන්සේ අතහැර ගියහ.

ඉන්පසුව බෝසතාණන් වහන්සේ සේනානි නම් නියම් ගමෙහි විශාල නුගරුකක් මුල වැඩසිටිමින් භාවනා කළහ. එදා වෙසක් පුන් පොහෝ දිනකි. සුජාතා නම් සිටුදුවක් එම නුගරුකේ සිටින දෙවියන්ට වූ භාරයක් නිදහස් කිරීමට රන් තලියක තැබූ කිරිබතක් රැගෙන පැමිණියා ය; එය බෝසතාණන් වහන්සේට පූජා කළා ය. බෝසතාණන් වහන්සේ නේරංජරා නදියෙන් දිය නා එම කිරිබත් පිඬු කොට වැළඳූහ.

**"මම බුදු වන්නේ නම් මේ රන් තලිය උඩුගම් බලා යේවා"** යි අධිෂ්ඨාන කොට උන්වහන්සේ රන් තලිය දියට දැමූහ. එය ක්‍රමයෙන් ගඟ මැදට ගොස් උඩුගම් බලා පා විය. එය දුටු බෝසතාණන් වහන්සේ තමන් ඒකාන්තයෙන් ම බුද්ධත්වයට පත් වන බව දැන ගත්හ.

එදින සවස් කල ඇසතු බෝ මුල කරා ගමන් ගන්නා උන්වහන්සේට සොත්ථිය නම් බමුණා මුණ ගැසිණි. ඔහු උන්වහන්සේට කුසතණ මිටි අටක් පූජා කළේ ය. බෝසතාණන් වහන්සේ එම කුසතණ මිටි ඇසතු බෝමුල අතුරා ඒ මත වැඩ සිටියේ **"බුද්ධත්වය ලබා මිස නොනැඟිටිමි"**යි යන අධිෂ්ඨානයෙනි. උන්වහන්සේ රැය පහන් වන තුරු භාවනාවේ නිරත වූහ.



එදින පූර්ණ චන්ද්‍රයා සෞම්‍ය රැස් දහරා විහිදන්නට විය. පිපුණු මල්වලින් බර වූ තුරුලතා පරිසරයේ සුන්දරත්වය වැඩි කළේ ය. අතුරන ලද අහස් වියනක් සේ සදෙව් ලෝ වැසි දෙවියෝ ද බ්‍රහ්මයෝ ද සාධු නාද දෙමින් දර්ශනය වන්නට වූහ. මඳ සුළඟ හමා යමින් දසත ම මල් සුවඳින් සුවඳවත් කරන්නට විය.

ආනාපානසති භාවනාව වඩමින් සිත සමාධිගත කළ බෝසතාණන් වහන්සේ **පෙර ආත්මය දැන ගැනීමේ නුවණ, සත්ත්වයන්ගේ උප්පත්තිය හා මරණය දැන ගැනීමේ නුවණ** සහ **සියලු කෙලෙස් නැසීමේ නුවණ** උපදවා ගත්හ. මේවා **ත්‍රිවිද්‍යා** නමින් හැඳින්වේ. අලුයම් කාලයේ දී බෝසතාණන් වහන්සේ චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කොට ගෙන උතුම් වූ සම්මා සම්බුද්ධත්වයට පත් වූහ.

## ක්‍රියාකාරකම



**පිළිතුරු ලියන්න.**

1. පස්වග මහණුන්ගේ නම් ලියන්න.
2. බෝසතාණන් වහන්සේට කිරිබත් පූජා කළේ කවුද?
3. සොත්ථිය බමුණා බෝසතාණන් වහන්සේට පූජා කළේ මොනවා ද?
4. බෝසතාණන් වහන්සේ ඇසතු බෝ මුල දී කළ අධිෂ්ඨානය කුමක් ද?

# 5 බුදුසමිඳුගෙ පිහිට ලැබූ පූතිගත්ත තිස්ස තෙරිඳු



1. ඇසුමෙන් බුදු බණ වරක්
සැවැත් නුවර විසුව එක්
තිස්ස නැමැති කුල පුතෙක්
පැවිදි බිමට වුණා එක්

2. මෙහෙම කලක් ගත වුණා
ඇඟේ බිබිලි මතු වුණා
සැරව පිරී කුණු වුණා
දුගඳ දසත පැතිරුණා

3. ඇඟ මස් දිය වී ගලා
ලේ සැරව ද පිටවෙලා
කුටියෙ දුගඳ වැඩිවෙලා
සසරේ දුක හෙළි කළා

4. පූතිගත්ත තිස්ස යැයි
අලුත් නමක් පට බැඳෙයි
ගඳ ඉවසනු නොහැකි යැයි
කිසිදු කෙනෙක් නොසලකයි

5. සිත ගත දෙක පෑරුණ
තිස්ස තෙරුන් අසරණ
කැත කුණු මැද වැතිරුණ
අයුරු නොදිටි අය වෙන

6. සම්මා සම්බුදු පියා
තිස්ස තෙරුන් වෙත ගියා
කය නාවා බණ කියා
පෑවා කරුණා දයා

7. බුදු සමිඳුගෙ උවටැනින්
කය සුවපත් විය සැණින්
දෙසූ සදහම් දම් පැනින්
සිත සුවපත් විය සැණින්

8. බුදු කරුණා යොමු වුණා
සසරේ දුක නැති වුණා
සියලු කෙලෙස් දුරු වුණා
නිවන් සුවෙන් සැනසුණා

## ක්‍රියාකාරකම

**පිළිතුරු ලියන්න.**

1. තිස්ස තෙරුන් වහන්සේ පූතිගත්ත තිස්ස නමින් හැඳින්වුණේ ඇයි?
2. තිස්ස තෙරුන් වහන්සේ සුවපත් කිරීමට බුදුරජාණන් වහන්සේ කළ උපස්ථාන දෙකක් ලියන්න.

## පුහුණුවට

සෙත් සිරි දෙන මහ ගුණ මුහුදාණන්
සත් හට වන බව දුකට වෙදාණන්
තිත් ගණඳුරු දුරලන දිනිඳාණන්
සිත් සතොසින් නමදිම් මුනිඳාණන්

(ලෝවැඩ සඟරාව)

# 6 බුදු හාමුදුරුවෝ කිසාගෝතමියට පිහිට වෙති

සැවැත් නුවර එක් දුගී ගෙයක කිසාගෝතමී නම් දියණියක් සිටියා ය. තරුණ වියට පත් වූ ඇය විවාහ වූවා ය. කාලය ගත වෙද්දී ඇයට පුතකු ලැබුණි.



ඉතා සතුටින් වැඩෙමින් සිටි පුතා හදිසියේ ම අසනීප වී මරණයට පත් විය. පුතු මළ බව විශ්වාස නොකළ ගෝතමිය මළකඳ තුරුලු කරගෙන බෙහෙත් සොයමින් ගෙයක් ගෙයක් පාසා ඇවිදින්නට වූවා ය.

ඒ දුටු මිනිස්සු, "ගෝතමිය නුඹේ පුතා මළේ ය. මරණයට බෙහෙත් නැත," යනුවෙන් ප්‍රකාශ කළහ. එහෙත් ඇය ඒවා පිළිගත්තේ නැත. ඇය බෙහෙත් සොයමින් ම මළකඳ ද ඔසවාගෙන ඇවිදින්නට වූවා ය. මෙය දුටු එක්තරා ගුණවත් මිනිසෙක් මෙසේ කීවේ ය.

"මෑණියනි, ඔබගේ පුතාට බෙහෙත් කර ගත හැකි උතුම් වෙදැදුරෙක් ජේතවනාරාමයේ සිටිනවා. ගිහින් එතුමා හමු වන්න."

ඔහුගේ බස් ඇසූ කිසාගෝතමිය ජේතවනාරාමයට ගියා ය. එම අවස්ථාවේ දී බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට ධර්මය දේශනා කරමින් සිටියහ.

"ස්වාමීනි, මාගේ පුතණුවන්ට බෙහෙත් දුන මැනවැ,"යි ඇය ඉල්ලා සිටියා ය.

එවිට බුදුරජාණන් වහන්සේ, ඇය සිහිමඳ ගතියෙන් සිටින බව දැනගත්හ. ඇයගේ දරුවා මිය ගොස් ඇති බවත්, ඒ බව ඇයට ප්‍රකාශ කිරීම නුසුදුසු බවත් උන්වහන්සේ වටහා ගත්හ.

"නැගණියනි, දරුවා සනීප කර ගැනීමට අබ ටිකක් අවශ්‍ය වෙනවා. එය රැගෙන ඒමට පුළුවන් ද?" බුදුරජාණන් වහන්සේ කාරුණිකව ඇයගෙන් ඇසූහ.

"පුළුවනි ස්වාමීනි."

"එසේ නම් කිසිවකු නොමළ ගෙයකින් අබ ටිකක් රැගෙන එන්න."

ඇය මිය ගිය දරුවාත් කරපින්නාගෙන ගෙයක් ගෙයක් පාසා යමින් අබ ඉල්ලුවා ය. ඒ සමග ම ඇය මේ නිවසෙහි කිසිවකු මිය ගොස් තිබේ දැයි විමසුවා ය. ඇයට බොහෝ පිළිතුරු ලැබුණි.

"අපේ මුත්තණුවන් මිය ගියා."
"අපේ දරුවා නැති වුණා."
"අපේ ගෙදරත් මරණයක් සිදු වුණා."

උදේ සිට සවස් වන තුරු ඇවිද වෙහෙසට පත් වූ කිසාගෝතමියට **කිසිවකු නොමළ ගෙයකින්** අබ සොයාගත නොහැකි විය.

"සෑම ගෙදරක ම මරණයක් සිදු වෙලා. මගේ පුතා සුවපත් කරන්න කිසිවකු නොමළ ගෙයකින් අබ සෙවීම කළ නොහැකි දෙයක්. උපදින සෑම කෙනකු ම මැරෙනවා. මරණය කාටත් පොදු දෙයක්. මගේ පුතාට වගේ ම මටත් මරණය අයිතියි. මගේ පුතා මරණයට පත් වෙලා."

කිසාගෝතමියට සත්‍යය වැටහුණි. ඇය තම මළ දරුවා අමු සොහොනෙහි දමා බුදුරජාණන් වහන්සේ වෙත පැමිණියා ය.

“උපදින සැමදෙනා ම මිය යන බව මට වැටහුණා, ස්වාමීනි. මෙම දුකින් අත්මිදීමට මා හට මාර්ගය කියා දෙන්න,” යි ඇය බුදුරජාණන් වහන්සේගේ සිරිපා වැඳ ඉල්ලා සිටියා ය.

ආශාව නිසා දුක ඇති වන බවත්, ආශාවන් නැති කිරීමෙන් නිවන් ලැබිය හැකි බවත් බුදුරජාණන් වහන්සේ ඇයට පහදා දුන් සේක.



බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාව සහ තැනට සුදුසු නුවණ මෙහෙයවීම නිසා කිසාගෝතමියගේ සිත සුවපත් විය. ඇය බුදු සසුනෙහි පැවිදි වූවා ය; නිරතුරුව ම භාවනා කළා ය. රහත් මෙහෙණින් වහන්සේ නමක වීමට එතුමිය වාසනාවන්ත වූවා ය.

## ක්‍රියාකාරකම



නිවැරැදි පිළිතුර ලියන්න.

1. කිසාගෝතමිය සිටියේ කොහේ ද?
2. ඇයට අබ සොයාගෙන ඒමට බැරි වුණේ ඇයි?
3. මෙම කතාවෙන් කියැවෙන, බුදුරජාණන් වහන්සේගේ ගුණාංගයක් නම් කරන්න.

# 7 බෝසත් දරුවෝ

"අත්තම්මේ, පන්සල් යන්න ද?"

"ඔව් දුවේ, අද පෝය දවසනේ."

"අපි මල් කඩන්න ද අත්තම්මේ?"

"හා හා අයියා එක්ක අත් සෝදාගෙන මල් නෙළන්න."
මම අයියා සමග මල් නෙළන්නට ගියෙමි.

පොල්තෙල්, හඳුන්කූරු හා පහන්තිර සූදානම් කර තැබූ අත්තම්මා පන්සල් යාමට සූදානම් වූවා ය. බුද්ධ වන්දනාවට අවශ්‍ය ගිලන්පස සූදානම් කළේ අම්මා ය. අයියා හා මම ද මුහුණ කට සෝදා පිරිසිදු සුදු ඇඳුමින් සැරසුණෙමු. අම්මාත් තාත්තාත් ගමනට සූදානම් වූහ. අපි සැම එක් වී පන්සල වෙත පියමං කළෙමු.

පන්සලේ ගේට්ටුව අසල දී අත්තම්මා සෙරෙප්පු ගලවා පැත්තකින් තැබුවා ය. ඒ අනුව යමින් අපි සියලු දෙනා ම පාවහන් ගලවා පේළියට තැබුවෙමු. පන්සල් භූමියට ඇතුළු වුණු අපි නිශ්ශබ්දව හා සංවරව ගමන් කළෙමු; ගෙන ගිය පූජා ද්‍රව්‍ය ආසනය මත තැබුවෙමු.

අත්තම්මා බෝ මළුව අමදින්නට වූවා ය. තාත්තා පරවුණු මල් අස්කර මල් ආසන පිරිසිදු කළේ ය.

අයියාත් මමත් නෙළා ගෙන ආ මල්, වට්ටිවල තබා අලංකාර ලෙස සකස් කළෙමු. අම්මා සෑ රදුන්ට, බෝ රදුන්ට හා විහාර මන්දිරයට ගිලන්පස පූජාව සූදානම් කළා ය.



සෑ මළුව, බෝ මළුව, විහාර මළුව හා විහාර ගෙය ඇමදීම ආදි වතාවත් කළ අපි දෑත් ධෝවනය කර ගත්තෙමු; ත්‍රිවිධ බෝධීන් වහන්සේ උදෙසා ම පහන් හා හඳුන්කූරු දැල්වූයෙමු. සකස් කළ දැහැත් ගිලන්පස ඇතුළු පූජා ද්‍රව්‍ය තැන්පත් කළේ අත්තම්මාගේ දැනුම්වත් කිරීමෙන් අනතුරුව ය.

අපි සැම වන්දනා කිරීම සඳහා බුදු මැදුරෙහි හිඳ ගත්තෙමු. අත්තම්මාත්, අම්මාත්, මාත් අර්ධ පර්යංකයෙන් වාඩි වුණු අතර තාත්තාත් අයියාත් හිඳ ගත්තේ බද්ධ පර්යංකයෙනි.

සාධු.... සාධු.... සාධු....

අපි තිසරණ සරණ ගොස් පන්සිල් සමාදන් වී ලයාන්විත හඬින් වන්දනා හා පූජා ගාථා සජ්ඣායනා කළෙමු. අවසානයේ අපි සැම දෙනා ම එක් වී අත්තම්මාට වැන්දෙමු. එවිට අත්තම්මා අපට, 'තෙරුවන් සරණයි!' කියා ආශීර්වාද කළා ය. අයියාත් මමත් දෙමවුපියන්ට වඳින ගාථා කියා අම්මාටත් තාත්තාටත් වැන්දෙමු. අපේ හිස් අත ගා අම්මාත් තාත්තාත් අපට, 'බුදු සරණයි!' කියා ආශීර්වාද කළෝ ය.

ඉන් පසු ව අප, පූජා භාජන ආසන මතින් ඉවත් කර පිරිසිදු කළෙමු. පසුව අපි ස්වාමීන් වහන්සේ වැඩ සිටින ආවාස ගෙය කරා පියමං කළෙමු. අත්තම්මා සුදු ලේන්සුව බිමට එළා පසඟ පිහිටුවා ස්වාමීන් වහන්සේට වැඳ නමස්කාර කළා ය. එවිට අපි සැම ද ස්වාමීන් වහන්සේට පසඟ පිහිටුවා වැන්දෙමු. උන්වහන්සේ, 'සුවපත් වේවා!' කියා අපට ආශීර්වාද කළහ.

"වන්දනා කරලා ඉවර ද උපාසකම්මේ?" යැයි ස්වාමීන් වහන්සේ විමසූහ.

"එහෙමයි ස්වාමීන් වහන්ස," කියා අත්තම්මා පිළිතුරු දුන්නා ය.

ස්වාමීන් වහන්සේ තම ආසනයේ වැඩහුන් පසුව සැදැහැවතුන්ට වෙන්කර ඇති කුඩා ආසනවල අපි හිඳගත්තෙමු.

"මං බලාන උන්නේ මේ දරුවො දෙන්නා පන්සලේ හැසිරුණු ආකාරය. බොහොම ආදර්ශවත් දරුවො දෙන්නෙක්. එහෙ මෙහෙ දුව පැන ඇවිදින්නේ නැතිව නිශ්ශබ්දව සංවරව ගමන් කළා. වන්දනාවට පෙර වතාවත් කළා. ශබ්ද නගා ලයාන්විතව ගාථා සජ්ඣායනා කළා. වැඩිහිටි උදවිය නිවැරැදි ව වැඩ කළා ම දරුවොත් ඒ ආකාරයට හැඩ ගැහෙනවා. මේ අපේ බෝසත් දරුවෝ," යැයි ස්වාමීන් වහන්සේ ප්‍රකාශ කළහ.

## ක්‍රියාකාරකම



**පිළිතුරු ලියන්න.**

1. පන්සලට යන විට රැගෙන ගිය දේවල් නම් කරන්න.
2. පන්සලේ දී වන්දනාවට පෙර සිදු කළ වතාවත් මොනවා ද?
3. පාඩමේ සඳහන් ආශීර්වාද පාඨ ලියන්න.

# 8 යහ ගුණ දම් පුරුදු වෙමු

අපේ පන්සලේ පොඩි හාමුදුරුවන් වහන්සේ දහම් පාසලේ ධර්ම සාකච්ඡාවට වැඩම කළහ. උන්වහන්සේ වඩින විට අත් පත්‍රිකා කිහිපයකුත් රැගෙන විත් තිබුණි.

අපේ ජීවිතවලට වැදගත් වන කරුණු රාශියක් එම අත් පත්‍රිකාවල ඇතුළත් විය.

පහත සඳහන් වන්නේ ඒ අත් පත්‍රිකා කිහිපයයි. අපි ඒවා හොඳින් කියවා අපේ ජීවිතවලට යහ ගුණ දම් එකතු කර ගනිමු.

### පිදිය යුත්තන් පුදමු

- අපේ මුර දේවතාවන් වන ස්වාමීන් වහන්සේලාට ගරු කරමු.
- වෙනත් ආගම්වල පූජකතුමන්ලාටත් ගරු කරමු.
- අලුත් අවුරුද්දේ ගුරු දෙගුරුන්ට බුලත් අතක් දී වැඳීමට අමතක නොකරමු.



**තෙරුවන් සරණයි .........**

## මවුපියෝ උතුම් ම ය
## අපේ පෙර දෙවිවරු ම ය...

☸ සාම කුමාරයා ඇස් නොපෙනෙන දෙමාපියන් ආදරයෙන් රැක බලා ගත්තේ ය.

☸ බෝසත් ගිරවෙක් වී කරල් රැගෙන ගොස් පියාසර කිරීමට නොහැකිව මහලු ව සිටි තම මවුපියන් පෝෂණය කළේ ය.

ඉහත කතා පුවත් දෙකෙන් ම කියවෙන්නේ බෝසතාණන් වහන්සේ මවුපියන්ට උපස්ථාන කළ ආකාරයයි.

***සුපිපි ළමා සමාජයේ සත්කාරයකි.***



## උපන්දිනය සමරමු අපි මෙසේ

අපගේ උපන්දිනයට කළ හැකි පින්කම් බොහෝ ය.



☸ පළමුවෙන් ම මවුපියන්ට වැඳීම හා උපස්ථාන කිරීම

☸ පන්සල් ගොස් තෙරුවන් වන්දනා කර බෝධි පූජාවක් පැවැත්වීම

☸ දානමය පින්කමක් පැවැත්වීම

☸ ළමා නිවාසයකට අවශ්‍ය දෑ ලබාදීම

☸ රෝහලක රෝගීන්ට උපකාර කිරීම සහ අවශ්‍ය දෑ ලබාදීම

☸ වැඩිහිටි නිවාසයකට ගොස් ඔවුන්ට උදවු කිරීම

☸ අවශ්‍යතා ඇති යහළුවන්ට පාසල් උපකරණ ලබාදීම

මුදල් නාස්ති කරමින් උත්සව පැවැත්වීම නවතා අපි පින් වැඩෙන කටයුත්තකට සම්මාදම් වෙමු.

***තෙරුවන් සරණයි .........***

## නිවැරැදි ආහාර පුරුදු

- කෑමට පෙර අත් සේදීම
- අවශ්‍ය ප්‍රමාණයට ආහාර බෙදා ගැනීම
- නිවැරැදි ඉරියව්වක වාඩි වී ආහාර ගැනීම
- ආහාර අවට නොවැටෙන සේ අනුභව කිරීම
- කටේ කෑම තියාගෙන කතා නොකිරීම
- චව්-චව්, සුරු-සුරු වැනි ශබ්ද නැගෙන සේ කෑම නොගැනීම
- ඉඳුල් සහිත අතින් භාජන නොඇල්ලීම
- ආහාර ගත් භාජන පිරිසිදු කිරීම
- ක්ෂණික ආහාර, රසකාරක හා වර්ණක යෙදූ ආහාර, කල් ඉකුත් වූ ආහාර, පිළිකා කාරක ආහාර ආදිය ගැනීමෙන් වැළකීම

**- ආරෝග්‍ය පරමා ලාභා -**

**නීරෝගීකම උතුම් ම ලාභයයි**





## ගුරුවරු අපේ දෙව්වරු ය.

හරි වැරැදි පෙන්නා  
වැරැදි අහකට පන්නා  
මට සෙත සදන්නා  
එක ම දෙවියා ගුරු ම වන්නා

ගුරු උතුමන් කියන  
හොඳ දේ හොඳින් පිළිගෙන  
පිළිපදිමි හැම දින  
එයින් වැඩ සිදුවේ ය අපමණ

කීකරුව ඉඳලා  
කියන වැඩපල කරලා  
උගනිමි සිප් කලා  
මගේ ගුරුගේ දෙපා වැඳලා

(එස්. මහින්ද හිමි)

**සුපිපි ළමා සමාජයේ සත්කාරයකි.**

මෙම අත් පත්‍රිකාවල ඇතුළත් යහ ගුණ දම් අපි ද පුරුදු පුහුණු වෙමු.

## පැවරුම

- ගුරුතුමියගේ, ගුරුතුමාගේ උපදෙස් මත අප ඇති කරගත යුතු යහ ගුණ දම් ඇතුළත් පත්‍රිකා සකස් කර පාසලේ යහළුවන් අතර බෙදා දීමට කටයුතු කරන්න.

# 9 නීරෝගීමත් හෙට දවසක්

කුක්කු කුක් නාදය ඇසෙයි. දිනෙත්ගේ අම්මා උදේ ම අවදි වී උදෑසන ආහාරය පිළියෙල කරයි. දිනෙත් අවදි වෙයි; මිදුලට දුවයි. කුරුලු නාද දසතින් ඇසෙයි. වත්ත පුරා සීතල සුළඟක් හමා යයි. මිදුල අතු ගා පිරිසිදු කරන දිනෙත්ගේ සිතට මහත් සතුටක් දැනෙයි.

දිනෙත් දත් මැද මුහුණ කට සෝදා ගනියි; පිරිසිදු ඇඳුමෙන් සැරසෙයි. වත්තේ මල් පිපී සුවඳ හමයි. ඔහු වට්ටිය ගෙන මල් නෙළයි. දිනෙත් මල් ධෝවනය කර, පහන පත්තු කර බුදුරජාණන් වහන්සේට පූජා කරයි; නිවැරැදි ඉරියව්වෙන් බුදුන් වඳියි; පොත් පාඩම් කරයි.



“පුතේ එන්න කෑම කන්න,” අම්මා ඔහුට කතා කරයි.

“ආ.... අද අම්මා මුං ඇට තම්බලා. මං හරි ම ආසයි.”

“ඔව්, පුතේ උදේට ඇට වර්ග, අල වර්ග වගේ දේවල් කන එක හොඳයි,” තාත්තා කියයි.

“අපේ ගුරුතුමී හැම වෙලාවෙ ම කියා දෙනවා උදේ ආහාරයේ වැදගත්කම ගැන,” දිනෙත් පවසයි.

දිනෙත් අම්මාටත් තාත්තාටත් වඳියි. “මගේ පුතාට තෙරුවන් සරණයි!” අම්මා කියයි. “මගේ පුතාට දළදා හාමුදුරුවන්ගෙ සරණයි!” තාත්තා කියයි. දෙමාපිය ආශීර්වාදය ලබා ගෙන ඔහු උදේ ම පාසල වෙත යයි; පාසලේ දී හමු වන යහළුවන්ට ‘ආයුබෝවන්! තෙරුවන් සරණයි!’ කියමින් සුබ පතයි. පන්තියේ වැඩ හොඳින් කරයි; ගුරුතුමියගෙන් ප්‍රශංසා ලබයි. පාසල නිම වී දිනෙත් නිවසට පැමිණෙයි.

සපත්තු දෙක ගලවන ඔහු ඒවා නිසි තැන තබයි; පොත් බෑගය ගෙන කාමරයට ගොස් මේසය මත පොත් තබා බෑගය නිසි තැන තබයි; ඇඳුම් වේළෙන්නට දමයි; පාසලේ දී ඉගෙන ගත් දේ ගැන අම්මා සමග පවසයි. ඔහුගේ පොත්පත් බලන අම්මා සතුටු වෙයි. “මගේ හොඳ පුතා!” කියමින් අම්මා දිනෙත්ගේ හිස අතගායි. ඔහු දිනපතා නෑමෙන් පසු පිරිසිදු ඇඳුමකින් සැරසී දහවල් ආහාරය ගනියි.

“අද කොළ මැල්ලුම හරි ම රසයි අම්මේ,” දිනෙත් කියයි. “ඔය අපේ ම කතුරුමුරුංගා ගහේ කොළ. වස විසත් නැහැනේ. බොහොම ගුණ කෑමක්,” මව පවසයි. කෑම කා පිඟාන හොඳින් සෝදා පිරිසිදු කර පිඟන් රාක්කයේ තබන ඔහු වතුර බීමෙන් පසු වීදුරුව ද නිසි තැන තබයි. දිවා ආහාරයෙන් පසු දිනෙත් පලතුරක් ආහාරයට ගැනීමට පුරුදු වී සිටියි. අඹ, කෙසෙල්, ගස්ලබු වැනි පලතුරක් කන ඔහු සිත නිවන ගීතයකට සවන් දෙයි. පසුව ඔහු වයලීනය වාදනය කරයි. ඉන්පසු ව වත්තේ බංකුව මත වාඩි වී කතන්දර පොතක් කියවයි. වත්තේ ගහකොළ නිසා ඔහුට පිරිසිදු වාතාශ්‍රය ලැබෙයි.

දිනෙත් පාසලෙන් දුන් ගෙදර වැඩ අවසන් කරයි. මුහුණ කට සෝදා පිරිසිදු වන ඔහු මල් නෙළා අම්මා හා තාත්තා සමග බුද්ධ වන්දනාව සිදු කරයි; අනතුරුව මෛත්‍රී භාවනාව කරයි. දෙමාපියන් සමග රාත්‍රී ආහාරය ගන්නා ඔහු එදින සිදු වූ තොරතුරු ඔවුන් සමග සුහදව කතා බහ කරයි. රාත්‍රී නින්දට පෙර දිනෙත් දත් මැද මුහුණ අතපය සෝදා ගැනීමට අමතක නොකරයි; අම්මාට තාත්තාට වැඳ සතුටු සිතින් නින්දට යයි.

## ක්‍රියාකාරකම



**පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද වැරැදි නම් (✗) ලකුණ ද වරහන් තුළ යොදන්න.**

1. දිනෙත් උදෙන් ම අවදි වෙයි. (   )
2. ඔහු දත් මැද මුහුණ සෝදයි. (   )
3. දිනෙත් මුං ඇට කෑමට ඉතා කැමැතියි. (   )
4. දිනෙත් පාසල් යාමට ප්‍රමාද වෙයි. (   )
5. ඔහු මෛත්‍රී භාවනාවේ යෙදෙයි. (   )
6. දිනෙත් පොත් බෑගය නිසි තැන තබයි. (   )
7. ගුරුතුමිය දිනෙත්ට ප්‍රශංසා කරයි. (   )
8. ඔහු වයලීනය වාදනය කරයි. (   )

# 10 මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය

බුදුරජාණන් වහන්සේගෙන් පැවිද්ද ලැබූ මුල් ම කාන්තාව වූයේ මහා ප්‍රජාපතී ගෝතමී තෙරණින් වහන්සේයි. සිදුහත් කුමරුගේ මව මහාමායා දේවියයි. සිදුහත් කුමරු ඉපදී සත් දිනකින් මහාමායා දේවිය කලුරිය කළා ය. මහාමායා දේවිය මිය යෑමෙන් පසු ඇයගේ නැගණිය වන ප්‍රජාපතී ගෝතමී දේවිය සුද්ධෝදන රජතුමාගේ අග බිසව වූවා ය. ඇය සිදුහත් කුමරු තමන්ගේ ම දරුවකු ලෙස ආදරයෙන් ඇති දැඩි කළා ය.

ප්‍රජාපතී දේවියට ලැබුණු පුතා නන්ද කුමරුයි. දියණිය සුන්දරී නන්දා ය. රජකමට උරුමකම් කියූ සිදුහත් කුමරු පැවිදිවීම නිසා ඊළඟට ඒ සඳහා සුදුස්සා වූයේ නන්ද කුමරුයි.

බුද්ධත්වයෙන් පසු සිය ඥාතීන්ට පිහිටවීමට බුදුරජාණන් වහන්සේ කිඹුල්වත් නුවරට වැඩම කළ සේක. උන්වහන්සේ රජමාලිගාවෙන් දානය වළඳා නන්ද කුමාරයා සමග විහාරයට වැඩම කළහ. බුදුරජාණන් වහන්සේ, විහාරයට ගිය නන්ද කුමාරයා පැවිදි කළ සේක. පසු දින රාහුල කුමරු ද පැවිදි කෙරිණි.

මහලු වියට පත් වූ සුද්ධෝදන රජතුමා මරණයට පත් විය. බුද්ධ මාතාව ලෙස හැඳින්වූ ප්‍රජාපතී ගෝතමියට පැවිදි වීමට සිතිණි. මේ වන විට කාන්තාවන් බුදු සසුනේ පැවිදි වී සිටියේ නැත.

ප්‍රජාපතී ගෝතමිය බුදුරජාණන් වහන්සේ හමු වී “ස්වාමීනි, භාග්‍යවතුන් වහන්ස, කාන්තාවන්ටත් බුදු සසුනේ පැවිදි වීමට අවසර ලබා දෙන්න,” යැයි අවස්ථා තුනක දී ම ඉල්ලා සිටියා ය.

එක් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ විශාලා මහනුවර කූටාගාර ශාලාවේ වැඩ වසන බව මහා ප්‍රජාපතී ගෝතමියට දැනගන්නට ලැබුණි. ඇය පැවිදි වීමේ බලාපොරොත්තුවෙන්

තවත් කුමාරිකාවන් පන්සියයක් සමග හිස කෙස් කපා කහ වස්ත්‍ර හැඳගත්තා ය. එම පිරිස පාත්‍ර අතින් ගෙන කිඹුල්වත් නුවර සිට විශාලා මහනුවර කූටාගාර ශාලාව දක්වා පයින් ම ගියහ.

බොහෝ දුරක් පාගමනින් පැමිණි නිසා ඔවුන්ගේ දෙපා ඉදිමී, තුවාල වී තිබුණි. කහ වස්ත්‍ර දූවිලිවලින් අපිරිසිදු වී තිබුණි. මෙම හද කම්පා කරවන සිදුවීම දුටු ආනන්ද හිමියෝ මේ බව බුදුරජාණන් වහන්සේට දැන්වූහ; කාන්තාවන්ට පැවිදි වීමට අවසර ලබා දෙන මෙන් ගෞරවයෙන් ඉල්ලූහ.



පසුව ප්‍රජාපතී ගෝතමී දේවියගේ ඉල්ලීම ඉටු විය. අනෙක් කුමාරිකාවන් පන්සිය දෙනා ද සමග ප්‍රජාපතී ගෝතමී දේවිය සම්බුදු සසුනේ පැවිදිව උපසම්පදාව ලැබුවා ය. බුදුරජාණන් වහන්සේගෙන් කමටහන් ගෙන භාවනා කොට එතුමිය ඇතුළු පිරිස රහත් භාවයට පත් වූහ.

මහා ප්‍රජාපතී ගෝතමී මහරහත් තෙරණියෝ අවුරුදු එකසිය විස්සක් වැඩ සිට පිරිනිවන් පා වදාළ සේක. අධිෂ්ඨානය, කැපවීම, ඉවසීම, නොපසුබස්නා වීර්යය මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය තුළ තිබූ උසස් ගුණාංග විය.

## ක්‍රියාකාරකම

**වරහන් තුළ තිබෙන වචන යොදා හිස්තැන් පුරවන්න.**

1. මහමායා දේවිය කලුරිය කළේ සිදුහත් කුමරු ඉපදී .............................. ය.
2. මහා ප්‍රජාපතී ගෝතමී දේවියගේ පුතා .............................. කුමරු වන අතර දියණිය .............................. වේ.
3. ප්‍රජාපතී ගෝතමිය .............................. නමින් ද හැඳින්වෙයි.
4. මහා ප්‍රජාපතී ගෝතමී දේවිය සමග කුල කාන්තාවෝ .............................. දෙනෙක් පැවිදි වූහ.
5. මහා ප්‍රජාපතී රහත් තෙරණිය අවුරුදු .............................. වැඩ සිට පිරිනිවන් පෑවා ය.

*(සුන්දරී නන්දා, සත් දිනකින්, බුද්ධ මාතා, පන්සිය, නන්ද, එකසිය විස්සක්)*

# 11 අග්‍රශ්‍රාවකයන් වහන්සේලා

ඉස්සර කාලේ රජගහනුවර උපතිස්ස, කෝලිත කියලා ගම් දෙකක් තිබුණා. මේ ගම් දෙකේ උපතිස්ස හා කෝලිත නමින් තරුණ යාළුවෝ දෙදෙනෙක් හිටියා.

මේ දෙදෙනා හොඳ ම යාළුවෝ; දෙදෙනා ම ඥානවන්තයි. ඔවුන් රජගහ නුවර වාර්ෂිකව පැවැත්වෙන ගිරග්ග සමජ්ජ නම් මහා නාට්‍ය උත්සවය බලන්න ගියා. එම උත්සවය සැම කෙනකුට ම විනෝදය ගෙන දුන්නා. මුල් දිනවල දී මේ දෙදෙනා ද සතුටට පත් වුණා. නටන්නට සුදුසු තැන්වල දී නැටුවා. තෑගි දිය යුතු තැන්වල දී තෑගි දුන්නා.

පසු ව තමන් ගත කරන ජීවිතය නිසරු යයි දෙදෙනාට ම සිතුණා. එනිසා ම ඔවුන් ගිහිගෙය ගැන කළකිරුණා; වඩාත් ම වටිනා ජීවිතයක් ගත කරන්නේ කොහොම දැයි සොයන්නට සිතා ගත්තා. ඊට පස්සේ රජගහනුවර ම වාසය කළ ප්‍රසිද්ධ සංජය පිරිවැජිතුමා ළඟට ගියා. සංජය පිරිවැජිතුමා දන්නා සියලු දේ මේ දෙදෙනා ඉක්මනින් ම ඉගෙන ගත්තා.

ඒත් ඔවුන් ඉන් සෑහීමකට පත් වුණේ නැහැ. උපතිස්සයි කෝලිතයි දෙදෙනා වෙනත් ආචාර්යවරයකු සොයා වෙන වෙන ම තනිව ම පිටත් වුණා. සත්‍යය සොයා ගත් පළමුවැනියා අනෙකාටත් ඒ බව පවසන බවට දෙදෙනා කතිකා කර ගත්තා.

මෙහෙම ඇවිදගෙන යනකොට උපතිස්ස පිරිවැජියාට පිඬුසිඟා වඩින හාමුදුරු නමක් හමු වුණා. උන්වහන්සේගේ ගමන හරි ම ශාන්තයි, පෙනුම ඉතා ප්‍රසන්නයි. උන්වහන්සේ සංවර ගමනින් වඩිනවා දැකලා උපතිස්ස පිරිවැජියා ගොඩාක් පැහැදුණා. ඒ පස්වග භික්ෂූන් වහන්සේලාගෙන් එක් නමක් වූ අස්සජි මහ රහතන් වහන්සේයි.

ටික දුරක් අස්සජි මහ රහතන් වහන්සේ පසුපස ගමන් කළ උපතිස්ස පිරිවැජියා උන්වහන්සේ දන් වළඳන විට වතාවත් සිදු කළා. පසුව තොරතුරු කතා කළා; "ඔබ තුමාගේ ගුරුවරයා කවුරුන් ද?"යි විමසුවා.

"මගේ ගුරුවරයා ලොව්තුරා බුදුරජාණන් වහන්සේ," අස්සජි මහ රහතන් වහන්සේ පැහැදිලි කළා.



"එතුමාගේ ධර්මය මටත් උගන්වන්න," යැයි උපතිස්ස පිරිවැජියා ඉල්ලා සිටියා.

අස්සජි මහ රහතන් වහන්සේ එක ගාථාවකින් එම ධර්මය දේශනා කළා.

**යේ ධම්මා හේතුප්පභවා - තේසං හේතුං තථාගතෝ ආහ**
**තේසඤ්ච යෝ නිරෝධෝ - ඒවං වාදී මහා සමණෝ**

මේ ගාථාවේ මුල් පද දෙක අසද්දී ම උපතිස්ස පිරිවැජියා සෝවන් වුණා; අස්සජි හාමුදුරුවන්ගෙන් බුදුහාමුදුරුවන් ගැන තොරතුරු දැන ගත්තා; ඉක්මනින් ම තමාගේ යහළුවා වන කෝලිත සොයාගෙන ගියා; සියලු තොරතුරු කීවා. උපතිස්ස අස්සජි හිමියන් දේශනා කළ ගාථාව කෝලිතට පැවසුවා. එය අසා සිටි කෝලිත ද සෝවන් වුණා. දෙදෙනා ම තම ගුරුවරයා වූ සංජය පිරිවැජියාට ද මේ තොරතුරු දන්වා බුදුරජාණන් වහන්සේ හමුවට යාමට පැමිණෙන්නැයි ආරාධනා කළා. එහෙත් සංජය පිරිවැජියා එයට

කැමැති වූයේ නැහැ. පසු ව මේ දෙදෙනා බුදුරජාණන් වහන්සේ හමුවීමට පිටත් වූවා.



ඔවුන් දෙදෙනා දුර සිට ම දුටු බුදුරජාණන් වහන්සේ, තම ශ්‍රාවකයන් අමතා, "මහණෙනි, මේ එන දෙදෙනා ම නොබෝ දිනකින් මාගේ සසුනෙහි අග්‍රශ්‍රාවකයන් වහන්සේලා වෙති,"යි වදාළා. පසු ව දෙදෙනා ම බුදුහාමුදුරුවන් හමු වී බණ අසා රහත් වුණා. උපතිස්ස පිරිවැජියා සැරියුත් හාමුදුරුවෝ නමිනුත්, කෝලිත පිරිවැජියා මුගලන් හාමුදුරුවෝ නමිනුත් ප්‍රසිද්ධ වුණා. **සැරියුත් හාමුදුරුවන්** අපේ බුදුහාමුදුරුවන්ගේ **දකුණත් අග්‍රශ්‍රාවක** තනතුරට පත් වුණා. ඒ වගේ ම උන්වහන්සේ ප්‍රඥාවන්ත අය අතරින් අග තනතුරත් ලැබුවා.

ධර්මය දේශනා කිරීමේ විශේෂ හැකියාවක් සැරියුත් මහ රහතන් වහන්සේට තිබුණා. එම නිසා ධර්ම සේනාධිපති තනතුරත් උන්වහන්සේට ලැබුණා. සැරියුත් හාමුදුරුවෝ නිහතමානියි; නිතර අවවාද අනුශාසනා ලබන්න ප්‍රිය කළා. උන්වහන්සේ හරි ම ඉවසිලිවන්තයි; ඒ වගේ ම තම ගුරුවරයාට ගෞරව කළා. සෑම දිනක ම රාත්‍රි සැතපෙන්නට පෙර තම ගුරුවරයා වූ අස්සජි මහ රහතන් වහන්සේ වැඩ සිටින දිසාවට නමස්කාර කළේ ඒ නිසයි.

බුදුරජාණන් වහන්සේගේ **වමත් අග්‍රශ්‍රාවකයාණන් වහන්සේ** වූයේ **මුගලන් මහ රහතන් වහන්සේයි**. එසේ ම සෘද්ධිමතුන් අතර අගතනතුර ලැබුවේ ද උන්වහන්සේයි. සෘද්ධි බලය යොදාගෙන දිව්‍ය ලෝකයට මෙන් ම අපායට ද උන්වහන්සේ වැඩම කළා; එම තොරතුරු මහජනයාට දේශනා කරමින් ඔවුන් යහමගට ගැනීමට කටයුතු කළා. මහජනයා මුගලන් හාමුදුරුවන්ගේ ධර්ම දේශනා ශ්‍රවණය කිරීමට ගොඩක් කැමැති වුණා. මුගලන් හාමුදුරුවෝ නිසා සාසනයට ගරු බුහුමන් වැඩි වුණා. මේ නිසා අන්‍ය ආගමික පිරිවැජියන්ට මිනිසුන්ගෙන් ලැබෙන පුද පූජා, සත්කාර අඩු වුණා. එයින් කෝපයට පත් වූ ඔවුන් සොරුන් කණ්ඩායමක් ලවා මුගලන් මහරහතන් වහන්සේට පහර දීමට කටයුතු කළා. උන්වහන්සේ පෙර කරන ලද අකුසල කර්මයක් නිසා හොරුන්ගෙන් පහර කෑමට ලක්ව පිරිනිවන් පෑවා.

මුගලන් හාමුදුරුවෝ කොතරම් දක්ෂ වුවත්, අග්‍ර ශ්‍රාවකයින් වහන්සේ නමක් වුවත් අහංකාර වූයේ නැහැ. තමන්ගේ සෘද්ධි බලයෙන් අන් අයට යහපත සැලසුවා.

## ක්‍රියාකාරකම

**නිවැරදි පිළිතුර වරහනින් තෝරා ලියන්න.**

1. උපතිස්ස තරුණයාට හමු වූ රහතන් වහන්සේ ............... ය.
2. මුගලන් මහ රහතන් වහන්සේගේ ගිහි කල නම ............... ය.
3. ප්‍රඥාවන්තයින් අතරින් අගතනතුර ලැබුවේ ............................. මහ රහතන් වහන්සේය.
4. සැරියුත් මහ රහතන් වහන්සේගේ ගිහිකල නම ............... ය.
5. සෘද්ධිමතුන් අතරින් අග තනතුර ලැබුවේ ............................. මහ රහතන් වහන්සේය.

**(කෝලිත, සැරියුත්, උපතිස්ස, අස්සජි, මුගලන්)**

# 12 අපූරු මිතුදම

එකමත් එක කාලෙක ලස්සන මල් පිපුණු විලක් තිබුණා. ඒ විල සමීපයෙහි ගසක් මුල, වන ළැහැබක මුවෙක් සිටියා. ඒ විලේ ඉබ්බෙකුත්, ගස උඩ කෑරලෙකුත් හිටියා. මේ මුවයි, ඉබ්බයි, කෑරලයි තුන්දෙනා හරි ම යාළුවෝ; එකිනෙකාට උදවු කර ගනිමින් සමගියෙන් සතුටින් ජීවත් වුණා.





ඒ වනයේ ම පැල්පතක නපුරු වැද්දෙක් වාසය කළා. සතුන් මරාගෙන මස් කාලා තමයි මේ වැද්දා ජීවත් වුණේ. දවසක් දා මේ වැද්දා වනයේ ඇවිද යන විට මුවකුගේ පා සලකුණු දුටුවා. පා සලකුණු දුටු වැද්දා මුවා මරන්නට උපායක් යෙදුවා. සවිමත් වැල් පොටවල් යොදා උගුලක් අටවා වැද්දා පැල්පතට ගියා.

එදින රෑ මුවා උගුලට අහුවුණා. මහත් වේදනාවෙන් මුවා කෑ ගැසුවා.





තම යහළුවා කෑගසන හඬ ඇසුණු ඉබ්බා සහ කෑරලා එතැනට ආවා. "බයවෙන්න එපා යාළුවේ, මගේ දත් හයියයි. මට පුළුවන් ඔය වරපොටවල් කපලා ඔයාව බේරා ගන්න," යි ඉබ්බා කිවුවා. "ඔව් ඔව්, එයාගේ දත් හයියයි. බය වෙන්න එපා. අපි ඔයාව බේරා ගන්නවා," යි කෑරලා කීවා.

"වැද්දා පාන්දර ම උගුල සෝදිසි කරන්න ඒවි. මේ වරපට කපන්න ඉබ්බට ටිකක් වෙලා යාවි. මම ගිහින් වැද්දාට එන්න නොදී මග අහුරන්නම්." කෑරලා පැල්පත දෙසට පියාඹා ගොස් වැද්දා එළියට එන තුරු බලා සිටියා. වැද්දා උගුල සෝදිසි කිරීමට යාමට ආයුධත් රැගෙන එළියට ආවා.





කෑරලා කෑ ගසමින් වැද්දාගේ ඇඟේ අත්තටු වද්දමින් ඉදිරියට ආවා. කෑරලාගේ හඬ ඇසුණු වැද්දා පිටත්වීම අසුබ යැයි සිතා කේන්තියෙන් ගේ ඇතුළට ගියා. ටික වේලාවකින් වැද්දා පිටුපස දොරෙන් යාමට උත්සාහ කළා. කෑරලා පිටුපස දොර පැත්තෙන් කෑ ගසාගෙන ඉදිරියට ආවා. වැද්දා කේන්තියෙන් නැවතත් ගෙට ගියා. පසුව යෑමට සිතා වැද්දා නිදා ගත්තා.

වැද්දා දැන් ම නොඑන බව සිතූ කෑරලා යහළුවන් සිටින තැනට පියාඹා ගියා. "අනේ! මගේ දත් කැඩිලා කටින් ලේ එනවා. මගේ කටත් රිදෙනවා. ඒත් මම වීර්යය අත්හරින්නේ නැහැ. කොහොමහරි ඔයා බේරා ගන්නවා," යි ඉබ්බා අමාරුවෙන් කිවුවා. "ඔය දෙන්නා මගේ හොඳ යාළුවෝනේ. ඒ නිසා මාව කොහොමහරි බේරා ගනියි කියලා මම දන්නවා," මුවා වෙව්ලමින් කිවුවා.





වරපටවල් දෙකක් කපලා ඉවරයි. තව එක වරපටයි තියෙන්නේ. ඈත වැද්දා එන බව කෑරලා දුටුවා. කෑරලා කෑ ගැසුවා. මුවා ඉතිරි වරපට කඩාගෙන දිවුවා. "ඔය දෙන්නා බේරිලා යන්න. මට එන්න අමාරුයි." කෙඳිරිගාමින් ඉබ්බා කිවුවා.

"මුවා ඇවිත් ඔයාව බේරා ගනීවි," යි ඉබ්බාට කියමින් කෑරලා ද පියාඹා ගියා.

"මුව මස් නැති වුණාට මේ තියෙන්නේ ඉබි මස්," කියමින් වැද්දා ඉබ්බා රෙදි කඩක තබා ගැට ගැසුවා.

තමා නිසා විපතට පත් මිතුරා බේරා ගැනීමට සිතූ මුවා වැද්දාට පෙනෙන පරිදි ළඟට ම ආවා. ඒ බව දුටු වැද්දාට මුව මසුත් ඉබි මසුත් දෙක ම කන්නට සිතුණා. ඉබ්බා රෙදි කඩින් ගැටගසා ගසක අත්තක එල්ලා මුවා පසුපස දුවන්නට වුණා. මුවා කැලය පුරා දුවමින් වැද්දා කැලේ අතරමං කළා.





වැද්දා කැලේ අතරමං කළ මුවා ඉබ්බා සිටි ගස ළඟට ආවා. "ඔයා බය වෙන්න එපා, මං ආවේ ඔයාව බේරා ගන්න." කියමින් මුවා තමාගේ අංතට්ටුවෙන් ඇන, රෙදිකඩකින් ගසේ එල්ලා සිටි ඉබ්බා බිමට දැම්මා.



වේදනාවෙන් සිටි ඉබ්බා විලට බැස වේදනාව අඩු කර ගත්තා. මුවාත්, කැරලාත් සැඟවී බලා සිටියා.



බොහෝ වේලාවක් ගත වූ පසු වැද්දා පාර සොයා ඉබ්බා එල්ලා තබා ගිය ගස ළඟට ආවා. ඉබ්බාත් නැති බව දුටු ඔහු, "මුව මසුත් ඉබි මසුත් දෙක ම නැති වුණා," කියමින් කේන්තියෙන් මහා හඬින් කෑ ගැසුවා.

වැද්දා ගිය පසු මුවාත්, ඉබ්බාත්, කෑරලාත් තමා ජීවත් වන තැනට නැවත ආවා.
හැම දෙනා ම එකිනෙකාට උදවු කරගත් නිසා ඔවුන්ගේ ජීවිත බේරුණා.
ඉන් පසුව ඔවුන් තිදෙනා සතුටින් ජීවත් වුණා.



(කුරුංගමිග ජාතක කතාව ඇසුරෙනි.)

## ක්‍රියාකාරකම

හොඳ මිතුරකු සතු ලක්ෂණ තුනක් ලියන්න.



# 13 වැඩිහිටි උපස්ථානය

වැඩිහිටියන් යනු අපට වඩා වයසින්, දැනුමෙන් හා අත්දැකීම්වලින් වැඩි අය ය. අපගේ දෙමවුපියන්, නෑදෑයින්, ගුරුවරුන්, අපේ වැඩිහිටියන් ලෙස හැඳින්වීමට පුළුවන.

කුඩා කාලයේ සිට ම අපේ මවුපියෝ අප ආදරයෙන් රැක බලා ගත්හ. කුස දරා මෙලොවට බිහිකර බිලිඳු වියේ දී අපට කිරි පොවා, කුසගිනි නිවා, නහවා පිරිසිදු කර, උණුසුම්ව තුරුලු කරගෙන අප ලොකු මහත් කළේ අපගේ ආදරණීය අම්මා ය. අම්මා මෙන් ම ආදරයෙන් අපට කවා පොවා, අප ආරක්ෂා කර ගත්තේ අපගේ තාත්තා ය.



මවත් පියාත් දෙදෙනා ම අපට අවශ්‍ය පොත්පත් සහ උපකරණ ලබා දෙති. පාසල් යවා අපගේ ඉගෙනීම වෙනුවෙන් ඔවුහු විශාල වෙහෙසක් දරති; කැප කිරීමක් කරති.

නෑදෑයෝ ද, වෙනත් වැඩිහිටියෝ ද බොහෝ අවස්ථාවල දී අපගේ දියුණුවට උදවු, උපකාර කරති. අපගේ දෙමාපියන් මෙන් ම ඔවුහු ද අපට හොඳ සිරිත් විරිත් කියා දී සමාජයේ ජීවත් වන ආකාරය පෙන්වා දෙති.

ගුරුවරු ද අපගේ දියුණුවට මග කියා දෙන වැඩිහිටියෝ ය. ඔවුහු අපට දැනුම ලබා දීමට, අප යහපතෙහි යෙදවීමට මහත් වෙහෙසක් දරති; දියුණුවේ මාර්ගය අපට පෙන්වා දෙති. ගුරුවරුන් මේ සියල්ල ම කරනුයේ අප කෙරෙහි ඇති ආදරය, කරුණාව, මෛත්‍රිය නිසා ය.

සිල්වත්, ගුණවත් ස්වාමීන් වහන්සේලා ද වැඩිහිටියන් ලෙස අපගේ දියුණුවට අවශ්‍ය අනුශාසනා ලබා දෙති. අපට යහපත් මාර්ගය පෙන්වා දෙති.

වැඩිහිටියන්ට සැලකීමෙන් අපට බොහෝ ආනිශංස ලැබෙන බව බුදුරජාණන් වහන්සේ දේශනා කොට ඇත. සාලිකේදාර ජාතකය, තිත්තිර ජාතකය වැනි ජාතක කතාවලින් ඒ බව පැහැදිලි වේ.



දෙමාපියන්ට, ගුරුවරුන්ට, වැඩිහිටියන්ට ආදරයෙන්, කරුණාවෙන් සලකන දරුවන්ට සැම දෙනා ම ප්‍රිය කරති; ආරක්ෂාව ලබා දෙති.

වැඩිහිටියන්ට සැලකීම උතුම් ගුණ ධර්මයකි. වැඩිහිටි අවවාද අනුශාසනා හොඳින් පිළිගෙන අපගේ ජීවිතය ඒ අනුව සකස් කර ගනිමු.

## ක්‍රියාකාරකම



- පහත සඳහන් කවි ගායනා කරන්න.

ආදරයෙන් අප හැදු මවුනි
රැකවරණය දුන් පියතුමනි
දොහොත් නගා පා වැඳ බැතිනි
ඔබ හට සෙත් පතනෙමි නිතිනි

අපගේ ඉගෙනුම සලසමිනි
යහ මග පෙන්වූ ගුරුතුමනි
දෙපා නැමද හද පිරි බැතිනි
ඔබ හට සෙත් පතනෙමි නිතිනි

# 14 බොදු බැති ගී

බුදු හාමුදුරුවො අපිත් දකින්නැති
බණත් අහන්නැති ඒ කාලේ
නිවන් දකින්නට පින් මදි වෙන්නැති
ඒකයි තවමත් සංසාරේ //

දෙව්රම් වෙහෙරට යන්න එන්න ඇති
බුදුන් වඳින්නට ඒ කාලේ
නිවන් දකින්නට පින් මදි වෙන්නැති
ඒකයි තවමත් සංසාරේ //

බුදු හාමුදුරුවො......

අපිත් එක්ක සිටි අපේ ම යාළුවො
නිවන් දකින්නැති ඒ කාලේ
මෙතේ බුදුන් දැක නිවන් දකින්නට
පින් පුරවමු අපි සංසාරේ

බුදු හාමුදුරුවො......

පද රචනය : පූජ්‍ය රඹුකන සිද්ධාර්ථ හිමි
සංගීතය සහ ගායනය : වික්ටර් රත්නායක මහතා

# 15 අපි පරිසරය සුන්දර කරමු

"ආයුබෝවන් තෙරුවන් සරණයි! දරුවනි."

"ආයුබෝවන් තෙරුවන් සරණයි! ගුරුතුමනි."

"අද අපි බලමු අපේ පන්තියේ බිත්ති පුවත්පතේ පළ කරලා තියෙන ලිපි මොනවා ද කියලා."



“සතුන්ට වාසස්ථාන තනාදීම ගැන ලියලා තියෙන්නේ චාමර. පුතා, එන්න ඉස්සරහට. කියවන්න පුතාගේ ලිපිය.”

## සතුන්ට වාසස්ථාන තනාදීම

බොහෝ සතුන් තමන්ට වාසය කිරීමට ස්ථාන සකස් කර ගන්නේ තමන් විසින් ම ය. ඒ ඔවුන්ගේ ආරක්ෂාව සඳහා ය. මිනිසුන් වන අපට ද සමහර සතුනට වාසස්ථාන සකස් කර දිය හැකි ය.

ගේ කුරුල්ලන් වැනි සතුන්ට කූඩු සාදා ගැනීමට මැටි මුට්ටියක්, කළයක් වැනි දෙයක් සකස් කර දීමට අපට හැකියාව ඇත. කුරුල්ලන් අපගේ පරිසරය සුන්දර කරන නිසා කුරුලු සම්පත ආරක්ෂා කිරීම අපගේ යුතුකමකි.

අපගේ නිවසේ බල්ලන් පූසන් වැනි සුරතල් සතුන් සිටිත් නම් ඔවුනට ද සුදුසු වාසස්ථානයක් සහ ආහාර පාන ද ලබා දිය යුතු ය.

ගවයන් එළුවන් වැනි සතුනට වුව ද වාසය කිරීමට මඩුවක් සාදා දිය යුතු ය.



මේ අන්දමට සතුන්ට නිවහනක් සකස් කර දීම මහඟු පින්කමකි.

“චාමර පුතාගේ ලිපිය බොහොම හොඳයි. වටිනා අදහස් කීපයක් ලියලා තියෙනවා. ඊළඟට අපි අහමු සුජානි දුවගේ **කුරුලු ලෑල්ල** ලිපිය.”

# කුරුලු ලෑල්ල

කුරුලු අම්මාත් චූටි කුරුල්ලාත් පියාඹාගෙන ඇවිත් අඹ අත්ත උඩ වාඩි වුණා. චූටි කුරුල්ලා වටපිට බැලුවා. අමුතු දෙයක් දැක්කා.

"අම්මේ.... අම්මේ...."

"ඇයි පුතේ?"

"අර බලන්නකෝ මොකද්ද තියෙන්නේ කියලා."

"ඔව් පුතේ මමත් දැක්කා, ඒක අපට කෑම දාන්න හදපු කුරුලු ලෑල්ලක්"

"ඇත්ත ද අම්මේ එහෙනම් කොච්චර හොඳ ද!" චූටි කුරුල්ලා කිවුවා.

★ ★ ★

මේ වේලාවේ පුංචි සුධාරක සීයාත් එක්ක ගෙයින් එළියට ආවා. සුධාරක අතේ පිඟානක් තිබුණා. අඹ ගහ ළඟට ආපු සීයා සුධාරක උස්සලා වඩා ගත්තා. සුධාරක පිඟානේ තිබුණු අඹ, පැපොල්, කෙසෙල්, පේර, පලතුරු කෑලි ලෑල්ල උඩින් තිබ්බා.



"කුරුල්ලෝ ඇවිත් පලතුරු කාවි නේද සීයේ?" සුධාරක ඇසුවා.

"ඔව් පුතේ සුධාරක පුතා දීපු පලතුරු රසයි කිය කියා කාවි. පුතා හොඳ දරුවෙක් කියලත් කුරුල්ලෝ කියාවි. අපි දැන් යමු ගෙට. එතකොට කුරුල්ලෝ ඒවි."

සීයා සුධාරක සමග ගෙට ගියා.

★ ★ ★

චූටි කුරුල්ලයි කුරුලු අම්මයි කුරුලු ලෑල්ල උඩට පියඹා ආවා. චූටි කුරුල්ලා අඹ කෑල්ලක් කෑවා.

"අම්මේ මේ අඹ හරි රසයි." චූටි කුරුල්ලා කීවා.

"ඔව් පුතා."

"සුධාරක හරි හොඳයි නේද අම්මේ."

"ඔව් පුතේ සුධාරක හොඳ ළමයෙක්," කුරුලු අම්මා කීවා.

“හොඳ ලස්සන නිර්මාණයක්. සුජානිගේ ලිපිය බොහොම හොඳයි. ඊළඟට කියවමු, මලිත්ගේ **පින්තාලිය** ගැන ලිපිය.”

## පින්තාලිය

ගමන් බිමන් යාම ඉස්සර කාලේ බොහෝ අපහසු දෙයක්. මිනිස්සු පයින් මෙන් ම කරත්තවලින් ද ගමන් ගියහ. එසේ යන අයට ජලය සපයා ගැනීම අසීරු කරුණක් විය.

මිනිස්සු ඔවුනට බීම සඳහා ජලය පිරවූ භාජනයක් මාර්ගය අසල තැබූහ. ජලය බීම සඳහා කුඩා භාජනයක් ද ඒ සමග ම විය.

ගම් වැසියෝ ජලය පිරවූ බඳුන **පැන්තාලිය** ලෙස නම් කළහ. කලක් ගත වන විට එය පින් සඳහා කළ දෙයක් නිසා **පින්තාලිය** නම් විය.

මිනිසුන්ට මෙන් ම සතුන්ටත් ජලය අවශ්‍ය නිසා පසු කාලය වන විට කෑම දැමූ කුරුලු ලෑල්ල අසලින් කුරුල්ලන්ට බීමට ජලය සහිත භාජනයක් ද තැබිණ. එය **කුරුලු පින්තාලිය** නම් විය.

මෙවැනි යහපත් පුරුදු පුංචි අපේ ජීවිතයට එකතු කර ගනිමු.



“බොහොම හොඳයි. ඊළඟට අපි කියවමු ඔසුපැළ නඩත්තු කිරීම ලිපිය. කෝ කසුන් පුතා එන්න.”

## ඔසුපැළ නඩත්තු කිරීම




ඖෂධ පැළෑටි ස්වභාව ධර්මයේ දායාදයකි. අරළු, බුළු, බෙලි, නෙල්ලි, කොහොඹ ආදිය විශාල ඖෂධීය වෘක්ෂ වේ. හාතාවාරිය, වෙනිවැල්, රසකිඳ, ඉරමුසු ආදිය වැල් වර්ග වේ. කුප්පමේනියා, පොල්පලා, බැබිල ආදිය කුඩා පැළෑටි ලෙස වැඩේ.

ඖෂධයකට ගත නොහැකි කිසි ම ශාකයක් මෙලොව නැති බව පූජාවලිය ග්‍රන්ථයේ සඳහන් ජීවක වෛද්‍යවරයාගේ කතා පුවතින් පැහැදිලි වේ.

ඔසු පැළ වවා ගැනීමට මෙන් ම ඒවා නඩත්තු කිරීමට ද අප කටයුතු කළ යුතු ය. ඖෂධ අවශ්‍ය අයට ඒවා ලබා දීම මහත් පින්කමකි.

"කසුන් පුතාගේ ලිපියත් හරි වැදගත්. ඊළඟට තියෙන්නේ පරිසර අලංකරණය ගැන ලිපියයි. තුෂාරි දුව ඒක කියවන්න."

## පරිසර අලංකරණය



ගස්වැල් නිසා අපේ පරිසරයට සුන්දරත්වයක් ලැබී ඇත. ගස් වැල් මලින් බරවන අතර ඒවායේ රොන් ගැනීමට සමනලයන්, මී මැස්සන්, බඹරුන් එක්වීමෙන් පරිසරය තවත් සුන්දර වේ.

ඇළ දොළ, ගංගා, දියඇලි ආදිය ද පරිසරය අලංකාර කරන තවත් ස්වාභාවික සම්පත් ය. පරිසරය අලංකාර කිරීමට සතුන් ද දායක වෙති.

අපගේ ගෙවත්ත ද විවිධ ශාක රෝපණය කිරීම මගින් සුන්දර ස්ථානයක් කළ හැකි වේ. අපගේ ගෙවත්ත මෙන් ම පාසල් පරිසරය, පන්සල් භූමිය, බස් නැවතුම් පොළ, දුම්රිය නැවතුම් පොළ, මාර්ග ආදි පොදු ස්ථාන ද පිරිසිදුව, අලංකාරව තබා ගනිමු.

"තුෂාරි දුවගේ ලිපියත් හරි ම හොඳයි. අපි මේ ලිපි අනෙක් අයටත් කියවන්න පාසලේ ප්‍රධාන බිත්ති පුවත් පතේ ප්‍රදර්ශනය කරමු." යි ගුරුතුමා කීවේ ය.

## ක්‍රියාකාරකම

පහත මාතෘකාවලින් එකක් තෝරාගෙන ලිපියක් නිර්මාණය කර බිත්ති පුවත්පතේ ප්‍රදර්ශනය කරන්න.

- සතුන්ට ආදරය කරමු.
- පරිසරය පිරිසිදුව තබා ගනිමු.
- පොදු ස්ථාන ආරක්ෂා කරමු.
- ගස් වැල් අපේ මිතුරෝ ය.

# 16 අපේ පාසලේ පිරිත් පින්කම

"තිසර පුතේ, අත්තම්මාගෙ ගෙදර ලබන මාසේ පිරිත් පින්කමක් තියෙනවලු. අත්තම්මා ඊයේ නායක හාමුදුරුවන්ට පිරිතට ආරාධනා කරලා, දිනත් වෙන් කරවාගෙන," අම්මා කීවා ය.

"එහෙනම් අම්මේ අපට පාසල් නිවාඩුව ලැබුණු ගමන් ම ගමේ යන්න පුළුවන්," තිසර කීවේ ය.

❖ ❖ ❖

පාසල් නිවාඩුව ලැබුණි. අම්මාත්, තාත්තාත්, මමත් ගමේ යාමට සූදානම් වුණෙමු. අම්මා ස්වාමීන් වහන්සේලාට පිරිකර සූදානම් කරගෙන තිබුණි. ගමේ යාමට තිබූ ආශාව වෙනදාටත් වඩා දැනෙන්නේ පිරිත් පින්කම නිසා යැයි මට සිතුණි.

අප එහි යන විට අත්තම්මා මග බලාගෙන සිටියා ය. අපි සැම ඇයට වැඳ ගෙට ගොඩ වුණෙමු. "පුතාලා හැමෝට ම තුනුරුවන්ගේ පිහිටයි!" ඇය අපට ආශීර්වාද කළා ය.

තේ පානය අතරතුර පැවැත්වීමට නියමිත පිරිත් පින්කම පිළිබඳව අපි සාකච්ඡා කළෙමු.

"අත්තම්මේ, අපේ පාසලෙත් අවුරුද්ද මුල පිරිත් පින්කමක් පැවැත්වූවා," තිසර කීවේ ය.

"පිරිත් මණ්ඩපයකුත් හැදුවා ද පුතේ?" අත්තම්මා ඇසුවා ය.

"ඔව් අත්තම්මේ, ඒ පිරිත් මණ්ඩපය සරසලා තිබුණේ ගොක් කොළවලින්. සුදු රෙදිවලින් උඩු වියන් බැඳලා තිබුණා. නා දලු, නුගපත්, බුලත් හා පුවක් මල් කිනිති එල්ලලා තිබුණා. ස්වාමීන් වහන්සේලාට ආසන පනවලා ඒවාට සුදු පිරුවට එලා තිබුණා.

මණ්ඩපය ඇතුළේ මේසයක් තියලා සුදු පිරුවට අතුරා ධාතු කරඬුව තැන්පත් කරලා තිබුණා. ලොකු පිරිත් පැන් කළයකුත් තිබුණා. පිරිත් මණ්ඩපය වටේ පුන්කලස් තියලා පහන් පත්තු කරලා තිබුණා. ශාලාවෙන් පිටත මිදුලේ මල් පහන් පැලක් සාදා තිබුණා. එදා අපේ පාසල බෞද්ධ කොඩිවලින් සරසලා තිබුණේ පන්සලක් වගේ කියලා මට හිතුණා.''



"ඉතිං පුතේ, පිරිත් මණ්ඩපයට ධාතූන් වහන්සේලා තැන්පත් කරඬුව වැඩම කරනවනේ. ඒ නිසා බුද්ධ රත්නය වැඩ සිටිනවා. පිරුවානා පොත් වහන්සේ වැඩම කරන නිසා ධර්ම රත්නයත් වැඩ සිටිනවා. පිරිත් දේශනා කරන්න ස්වාමීන් වහන්සේලා වැඩම කරන නිසා සංඝ රත්නයත් වැඩ සිටිනවා. තුනුරුවන ම වැඩම කළා ම කොහොමත් පාසලත් පන්සලක් වගේ තමයි.''

"ඔව් අත්තම්මේ, හේවිසි හඬ මැද්දෙ මුතු කුඩ යටින් පාවඩ මතින් තමයි තුනුරුවන වැඩම කළේ. විදුහල්පතිතුමා හිසට සුදු පිරුවටයක් දමා ධාතු කරඬුව හිස මත තබාගෙන ආවා. පිරුවානා පොත් වහන්සේ වැඩමවූයේ දෙවනුවයි. ඊට පිටුපසින් ස්වාමීන් වහන්සේලා පේළියට වැඩම කළා. මම ස්වාමීන් වහන්සේලාට නමස්කාර කර පා ධෝවනය කළා. තාරක උන්වහන්සේලාගේ දෙපා පිස දැමුවා.

"ගුරු මෑණිවරු පියවරු ස්වාමීන් වහන්සේලාට වැඳ නමස්කාර කර පිළිගත්තා. පාසලේ සියලු ම සිසුන් දෙපස සිට සාධු නාද පැවැත්වූවා. පිරිත් දේශනාවට කලින් ගිලන්පස බුද්ධ පූජාව තැන්පත් කළා. ඉන් පසුව ස්වාමීන් වහන්සේලා ගිලන්පස වැළඳුවා. විදුහල්පතිතුමා ලොකු හාමුදුරුවන් වහන්සේට දැහැත් වට්ටිය පිළිගන්වා පිරිත් දේශනාවට ආරාධනා කළා.

"උන්වහන්සේ පිරිත් පින්කම ගැන අනුශාසනාවක් පැවැත්වූවා. අත්තම්මා දන්නවා ද බුදුරජාණන් වහන්සේගේ කාලෙත් පිරිත් දේශනා පවත්වලා තියෙනවලු. එක බමුණු කුමාරයෙක් පුංචි කාලෙ ම මිය යන බව දැනගත් දෙමාපියෝ බුදුරජාණන් වහන්සේ වෙත ගියාලු. බුදුරජාණන් වහන්සේ ස්වාමීන් වහන්සේලා සමග එක්ව පිරිත් දේශනාවක් පැවැත්වූවාලු. ඒ පිරිතේ අනුහසින් කුමාරයා මරණයෙන් බේරුණාලු. ඉන් පසු දීඝායු නම් වූ ඒ කුමාරයා අවුරුදු 120ක් ජීවත් වුණාලු."

"ඒක තමයි පුතේ, පිරිත් පින්කමක අනුහස් බොහෝමයි."

"අපි හැමෝ ම පිරිත් නූල දැතේ රඳවාගෙන එදා රෑ එළි වනතුරු පිරිත් ඇහුවා අත්තම්මේ."

"ඔව් පුතේ, පිරිත් අහගෙන ඉඳලා සාධු නාද පවත්වන්න ඕනෙ. වැඩිහිටි උදවිය දන්නවා පිරිත් දේශනා කරන විට සාධු නාද පැවැත්විය යුතු අවස්ථා. පිරිත් දේශනාවට හොඳින් සවන් දීම ඉතා ම වැදගත් දෙයක්."

"පිරිත අවසන් වූ පසු ස්වාමීන් වහන්සේලා අපට පිරිත් පැන් දුන්නා. පිරිත් නූල් බැඳ ආශීර්වාද කළා. අපි උන්වහන්සේලාට පසඟ පිහිටුවා වන්දනා කළා."

"එදා උදේ බුද්ධ පූජාව තැන්පත් කර ස්වාමීන් වහන්සේලාට හීල් දානය පිළිගැන්වූවා; පිරිකර පූජා කළා. දන් පැන් පූජා කරන්න

අපිත් සහභාගි වුණා. දානය අවසානයේ මිය ගිය අයට පැන් වඩලා පින් අනුමෝදන් කළා. අප සියලු දෙනාට ම සෙත් පැතුවා.''

''පුතාලගේ පාසලෙන් කරලා තියෙන පින්කම හරි අගෙයි. පාසලේ වැඩ කරපු අය මතකයට නංවලා පින්දීම කළගුණ සැලකීමක් වෙනවා. තිසර පුතා පින්කමට හොඳින් සහභාගි වෙලා තියෙනවා. ඒ නිසානෙ හැම දේ ම හොඳට මතක තියෙන්නේ.''

''ඔව්, අත්තම්මේ මට දැන් අපේ ගෙදර පිරිත් පින්කමේ කටයුතුවලට උදවු වෙන්නත් පුළුවනි.''

''මගේ පුතාට තුනුරුවන්ගේ ම පිහිටයි. අපි ගෙදර පිරිත් පින්කමත් හොඳට කරමු,'' යි අත්තම්මා කීවා ය.

## ක්‍රියාකාරකම



**පිළිතුරු ලියන්න.**

1. පිරිත් මණ්ඩපයේ තැන්පත් කර තිබූ දේවල් මොනවා ද?
2. විදුහල්පතිතුමා පිරිතට ආරාධනා කිරීම සඳහා ස්වාමීන් වහන්සේට පිළිගැන්වූයේ කුමක් ද?
3. දානය අවසානයේ ස්වාමීන් වහන්සේලාට පූජා කළේ මොනවා ද?

# 17 දන් දෙමු - පින් පුරමු

එදින ගුරුතුමිය කියා දුන් බුද්ධ ධර්මය පාඩම ගැන සිතමින් යසිරු ගෙට ගොඩවිය.

යසිරු:- අම්මේ, අද අපට ගුරුතුමී ළමා නිවාසවල ඉන්න යාළුවෝ ගැන කියා දුන්නා. ඒ අයට අවශ්‍ය දේවල් දෙන්න පුළුවන් නම් ඒක වටිනා පින්කමක් බව ගුරුතුමී කිවුවා.

අම්මා:- ඔව් පුතේ, හාමුදුරුවන්ට අපි දානය දෙනවා වගේ ම ළමා නිවාසවල, වැඩිහිටි නිවාසවල ඉන්න අයට අවශ්‍ය දේවල් දීමත් දානයක්. දුගී මගී යාචකයන්ට අවශ්‍ය දේවල් ලබා දීමත්, රෝහලකට අවශ්‍ය දෑ ලබා දීමත් දානයක්. ජීවත් වෙන්න අඩුපාඩුකම් ඇති අයට අවශ්‍ය දේ ලබා දීමත් දානයක්. අපි හාමුදුරුවන්ට දානය පූජා කරන්නේ ශ්‍රද්ධාවෙන්. එය **පූජා බුද්ධියෙන්** දෙන දානයක් ලෙස හැඳින්වෙනවා. ඒත් අපි අනෙක් අයට දානය දෙන්නේ අනුකම්පාවෙන්. එය **අනුග්‍රහ බුද්ධියෙන්** ලබා දෙන දානයක් හැටියටයි හඳුන්වන්නේ.

යසිරු:- අපි ලබන සුමානේ සුමිතුරු ළමා නිවාසයට දානයක් දෙන්න යනවා කියලා ගුරුතුමී කිවුවා.

අම්මා:- ඒක නම් හොඳයි. පුංචි කාලෙ ම පාසලෙන් මේ වගේ හොඳ දේවල් හුරු කරවීම බොහොම වටිනවා. ඉතින් පුතාලා මොනවා ද ඒ අයට ගෙනියන්නේ?

යසිරු:- පොත්, පෑන්, පැන්සල්, අනෙක් පාසල් උපකරණ, කිරිපිටි, සීනි වැනි ආහාර ද්‍රව්‍ය, බිස්කට්, චොකලට් වැනි රස කැවිලි ගේන්න කියලා තමයි ගුරුතුමී කිවුවේ.

අම්මා :- එහෙනම් පුතේ ගෙනියන්න අවශ්‍ය දේවල් තාත්තා වැඩ ඇරිලා ආවට පස්සේ කඩෙන් අරගනිමු.

යසිරු :- මගේ උපන් දිනයට තෑගි ලැබුණු පොත්, පැන්සල් තියෙනවනේ අම්මේ. මං හිතුවා ඒ තෑගිවලින් කොටසක් ඒ යාළුවන්ට දෙන්න.

අම්මා :- ඒක නම් හොඳ අදහසක් පුතේ.

❖ ❖ ❖ ❖

ළමා නිවාසයට යන දවස වන විට එහි ගෙනයාම සඳහා බොහෝ දේ රැස්කර තිබුණි. අවශ්‍ය දෑ බොහෝමයක් තාත්තා මට ගෙනවිත් දුන්නේ ය.

ළමා නිවාසයට යන දවස උදා විය. අප සමග අම්මා ද ගමනට එක් විය. පන්තියේ සැම දෙනාගේ ම සහභාගිත්වයෙන් ළමා නිවාසයට අවශ්‍ය දේවල් රාශියක් එකතු කර ගත හැකිවීම ගැන ගුරුතුමී අපට ද දෙමාපියන්ට ද ස්තුති කළා ය. එහි ගිය විට ඒ අය අප පිළිගත්තේ හදපිරි සතුටිනි.

අපි අම්මලා තාත්තලාගේ ද උදවු ඇතිව ළමා නිවාසය හා වටපිටාව අතුගා පිරිසිදු කළෙමු. පුංචි නංගිලා මල්ලිලා නාවා පිරිසිදු කළේ, අපේ අම්මලා ය. ඉන්පසුව ආහාර ගන්නා ස්ථානයේ ඔවුන් වාඩි කරවූයේ ළමා නිවාසයේ පාලිකාවන් වන නැන්දලා විසිනි. අප ගෙන ගිය ආහාර වර්ග දෙන විට ඔවුහු අපට ස්තූති කළහ. කා බී අවසන් වූ පසු අපි එළිමහනේ පුටු තබා රවුමකට වාඩි වුණෙමු. අප සැම එක්ව ගී කියමින් නැටුවෙමු. ඒ අයත් ගායන, රංගන ඉදිරිපත් කළහ.

ඉන් පසුව අප ගෙන ගිය තෑගි පාර්සල් යාළුවන්ට දෝතින් ම ලබා දුන්නෙමු. ඒවා ලබාගෙන ඔවුහු අපට “බොහෝම ස්තුතියි”

කීවෝ ය. නිවාසය භාරව කටයුතු කරන නැන්දා ද අපට ස්තුති කළා ය; කරන ලද පින්කම් අගය කළා ය. අප සැම නැවත පාසල වෙත පැමිණියේ ඉතා සතුටිනි.



එදින සවස තාත්තා පැමිණි පසු අම්මාත් මමත් ළමා නිවාසයට දුන් දානය පිළිබඳ තොරතුරු කීවෙමු. ඒ තොරතුරු අසා සිටි තාත්තා "පුතාගේ උපන් දිනයට ඒ ළමා නිවාසයට අපිත් දානයක් දෙමු," යැයි කීවේ ය. එය අසා යසිරු ඉතා සතුටට පත් විය.

## ක්‍රියාකාරකම

**පිළිතුරු ලියන්න.**

1. අනුග්‍රහ බුද්ධියෙන් දානය දිය හැකි අවස්ථා 3ක් ලියන්න.
2. මෙම පාඩමෙන් අපට ගත හැකි ආදර්ශ මොනවා ද?
3. ළමා නිවාසයේ දී අප කළ දේවල් ලියන්න.

# 18 මෙත් හැඟුමෙන් සිත් පුරවමු

"දුවේ පුතේ, මං අද අපේ සිත පිරිසිදු කරගන්න හැටි ඔයගොල්ලන්ට කියලා දෙන්නම්," ගුරුතුමී කීවා ය.

"අපිරිසිදු වූ අපේ ඇඳුම් පැලඳුම් මෙන් ම අපේ ශරීරයත් වතුරින් හෝදලා පිරිසිදු කරගන්න පුළුවන්.

"ඒත් අපේ සිත අපිරිසිදු වුණා ම ඒක වතුරින් හෝදලා පිරිසිදු කරන්න බැහැ. තරහ, වෛරය වැනි දේ ඇති වුණා ම සිත අපිරිසිදු වෙනවා. සිත අපිරිසිදු වුණා ම අපි කියන්නේ නරක වචන, කරන්නේ නරක වැඩ, පාඩම් කරන දේවල් මතක තියෙන්නෙත් නැහැ.

"සිත පිරිසිදු වුණා ම පාඩම් කරන්න පුළුවන්, පාඩම් කරන දේ හොඳින් මතක තියෙනවා. කථා කරන්නේ හොඳ වචනමයි, කරන හැම වැඩකින් ම තමන්ටත් අනුන්ටත් යහපතක් ම සිදුවෙනවා.

"සිත පිරිසිදු කරගන්න නම් භාවනා කරන්න ඕනේ. අපි තුනේ පන්තියේ දී භාවනා කළා පුතාලට මතක ද? අද අපි තව දුරටත් භාවනා කරන්න පුරුදු වෙමු. අපි බුද්ධ මන්දිරයට යමු.

"ගැහැනු දරුවන් අර්ධ පර්යංකයෙන් ද පිරිමි දරුවන් බද්ධ පර්යංකයෙන් ද වාඩි වෙන්න. අනිත් අයගේ ඇඟේ ගැවෙන්නේ නැති විදිහට වාඩි වෙන්න. දැන් අපි මෛත්‍රී භාවනාව වඩන්නයි සූදානම් වන්නේ, මෛත්‍රිය කියන්නේ මිතුරුකමයි. මේ වතාවේ දී අපි තමන්ගෙන් පටන් ගෙන තම සමීපතමයන්ට මෙන් ම දුරස්ව සිටින අයටත් මෛත්‍රිය පතුරවන්න පුරුදු කරමු.

"දැන් හැමෝ ම තමාගේ දොහොත් මුදුනේ තියාගන්න.

තුන් වතාවක් නමස්කාරය කියන්න.
සාධු! සාධු! සාධු!

සිරුර කෙළින් තබා ගන්න.
වම් අත උඩින් දකුණු අත තබා ගන්න.



මෙසේ කියන්න.

මගේ සිත පිරිසිදු ය පිරිසිදු ය පිරිසිදු ය
මගේ සිත සන්සුන් ය සන්සුන් ය සන්සුන් ය
මගේ සිත තැන්පත් ය තැන්පත් ය තැන්පත් ය
මගේ සිත පිරිසිදු ය සන්සුන් ය තැන්පත් ය

මම නිදුක් වෙම්වා!
නීරෝගී වෙම්වා!
සුවපත් වෙම්වා! සුවපත් වෙම්වා! සුවපත් වෙම්වා!

මා මෙන් ම මාගේ දෙමාපියෝ ද මාගේ වැඩිහිටියෝ ද
මාගේ හිතවන්තයෝ ද මාගේ අහිතවන්තයෝ ද
මේ ගමේ වසන්නා වූ ද, මේ නගරයේ වසන්නා වූ ද,
සියලු සත්ත්වයෝ,
නිදුක් වෙත්වා! නීරෝගී වෙත්වා! සුවපත් වෙත්වා!
වෛර නැත්තෝ වෙත්වා! තරහ නැත්තෝ වෙත්වා! නපුරු අදහස් නැත්තෝ වෙත්වා! දුක් පීඩා නැත්තෝ වෙත්වා!
සුවපත් වෙත්වා! සුවපත් වෙත්වා! සුවපත් වෙත්වා!

සාධු! සාධු! සාධු!

## පුහුණුවට

- දිනපතා බුද්ධ වන්දනාව සිදු කර ටික වේලාවක් භාවනා කිරීම පුරුද්දක් කර ගන්න.

# 19 ශ්‍රමය දීම දානයක්

"ආයුබෝවන් !
තෙරුවන් සරණයි ! දුවේ පුතේ."

"ආයුබෝවන් !
තෙරුවන් සරණයි ! ගුරු මෑණියනි."

"දූලා, පුතාලා දන්නවා ද ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියා කියන්නේ මොනවා ද කියලා? යි" ගුරුතුමී ඇසුවා ය.

"මම දන්නවා. ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියා තමයි, දාන, සීල, භාවනා කියන්නේ," සිතුල පිළිතුරු දුන්නේ ය.

"බොහොම හොඳයි පුතා. අපි හැමෝ ම දානමය පින්කම් කරලා තියනවානේ. ඒ දානවල දී ආහාර වර්ග, පොත්පත්, ඇඳුම් පැලඳුම් වගේ දේවල් දන් දුන්නා මතක ඇති. අද මම දූලා පුතාලට කියලා දෙන්නේ විශේෂ දානයක් ගැන. තමන්ගේ වෙහෙස මහන්සිය යොදවලා පොදු කටයුත්තකට සහභාගි වීමක් තමයි මේ දානය. ඒ කියන්නේ අපේ ශ්‍රමය යොදවලා පොදු දෙයකට සහභාගි වෙලා අපට පින් රැස් කර ගන්න පුළුවන්. අපි ඒ පින්කම හඳුන්වන්නේ **ශ්‍රමදානය** කියලයි."

"ඇයි ගුරුතුමී අපි තුන්වන ශ්‍රේණියේ දී පන්සල පිරිසිදු කළේ ශ්‍රමදානයකින්," ධනුක කීවේ ය.

"අපේ දහම් පාසලෙන් වැඩිහිටි නිවාසයකට ගියා අම්මලා තාත්තලාත් එක්ක. අපි හැමෝම එකතුවෙලා ලොකු ශ්‍රමදානයක් කළා," නිපුන් කීවේ ය.

"එහෙනම් නිපුන් පුතේ යාළුවන්ට දැනගන්නත් එක්ක පුතා ඒ ශ්‍රමදානය කළ හැටි කියන්නකෝ," ගුරුතුමී කීවා ය.

නිපුන් ශ්‍රමදානය කළ හැටි විස්තර කළේ ය.

"එළිමහනේ තිබූ බංකුවල ආච්චිලා සීයලා එක්කරගෙන ඇවිත් වාඩි කළා. සමහර අය එක්කරගෙන ආවේ රෝද පුටුවලින්. අපි ආච්චිලා සීයලා සමග ටික වේලාවක් කතා බහ කරමින් හිටියා.

"තාත්තලා නිවාසයේ මකුළු දැල් කඩලා අතුගාලා සෝදා පිරිසිදු කළා. ඇඳන්වල කොට්ට මෙට්ට අව්වට දැමුවා. ඇඳ ඇතිරිලි හා කොට්ට උර සෝදා පිරිසිදු කළේ අම්මලා.

"ආච්චිලා සීයලා කන බොන පිඟන් කෝප්ප සෝදන්න අපිත් උදවු කළා. සමහර ආච්චිලා සීයලාට තනියම නාගන්න බැහැ. අම්මලාගේ උදවු ඇතිව අපි ඒ අයව නහවා පිරිසිදු කළා. දූලා පුතාලා හැම දෙනාට ම නීරෝගී සුවය ප්‍රාර්ථනා කරනවා. අපට කළ උදවු උපකාරවලට බොහෝම පින් කියා ආච්චිලා සීයලා අපට කිවුවා.



"මිදුලේ වල් පැළ ගැලෙව්වේ අපි. තාත්තලා තණකොළ උදලු ගාලා වත්ත පිටිය පිරිසිදු කළා. මුළු වැඩිහිටි නිවාසය ම පිරිසිදු කර හැමෝම එක තැනකට රැස් වුණා.

අප රැගෙන ගිය කෑම බීම ආච්චිලා සීයලාට දුන්නා. ඒ අය හරි ම සතුටින් කෑම කෑවා. සමහර අයට අපේ අම්මලා කෑම කැවුවා. අපි ගීත ගයමින් නටමින් ආච්චිලා සීයලා සතුටු කළා. ඒ අයත් ගීත ගයමින් අත්පොළසන් දුන්නා. එක සීයා කෙනෙක් අප කළ ශ්‍රමදාන පින්කම ගැන ස්තුති කතාවක් කළා. අපි ඒ හැම දෙනාට ම වැන්දා. අප වැන්ද විට ආච්චිලා සීයලා අපට "බුදු සරණයි, තෙරුවන් සරණයි!" කියා ආශීර්වාද කළා."

"බොහෝම හොඳයි නිපුන් පුතේ. ශ්‍රමදාන පින්කම ගැන පුතා අපට ඉතාම හොඳින් කියා දුන්නා"

"ඉතිං දූලා පුතාලා කැමැති ද පුංචි ශ්‍රමදානයක් කරන්න?"

"ඔව් ගුරුතුමී," සිසුහු එක හඬින් කීහ.

"එහෙනම් දුවේ පුතේ අපිත් එකතුවෙලා පාසල් වත්ත පිරිසිදු කිරීමේ ශ්‍රමදාන පින්කමක් ලබන සතියේ කරමු."

## ක්‍රියාකාරකම



**පිළිතුරු ලියන්න.**

1. ශ්‍රමදානයේ දී ළමයින් කළ වැඩ 2ක් ලියන්න.
2. ශ්‍රමදානයේ දී දෙමාපියන් කළ වැඩ 2ක් ලියන්න.
3. වැඩිහිටි නිවාසයේ ආච්චිලාට හා සීයලාට වැන්ද විට ඔවුන් කළ ආශීර්වාදය කුමක් ද?

# 20 සිල් සුවඳ පතුරමු

"අම්මේ මෙවර වෙසක් පෝයට අපි සිල් සමාදන් වෙනවා. අපේ ගුරුතුමී පෙර පෝය වැඩසටහනක් හදලා අප ඒ ගැන දැනුම්වත් කළා, ධර්ම දේශනා, බුද්ධ පූජා පෙරහැර, භාවනා වැඩසටහන්, ජාතක කතා හා පිරිත් දේශනා ඊට ඇතුළත් කරලා තිබුණා," පාසලේ සිට පැමිණි සතික අම්මාට කීවේ ය.

"ඔව් පුතේ, සිල් වැඩසටහනකින් සිත, කය හා වචනය යන තුන ම සංවර කර ගැනීම සිදුවෙන්න ඕන. ඒ විදියට වැඩසටහන සකස් කරලා ඇති," අම්මා කීවා ය.

"පාසල පිරිසිදු කරන්නයි, වෙසක් සැරසිලි කරන්නයි අම්මලාටත් එන්න කිවුවා," සතික කීවේ ය.

වෙසක් කූඩු, බෞද්ධ කොඩි වැල්, රැලි පටි හා දම්වැල් සකස් කිරීම එක් එක් පන්තිවල සිසුන්ට පවරා තිබුණි. වෙසක් සැරසිලි සඳහා පොලිතීන් භාවිත නොකරන ලෙස ගුරුතුමිය සිසුන් දැනුම්වත් කළා ය.

❖ ❖ ❖

වෙසක් පොහොය දින සතික උදෙන් ම අවදි විය. ඔහු දත් මැද මුහුණ සෝදුවේය, පිරිසිදු සංවර සුදු ඇඳුමෙන් සැරසී, උතුරු සළුව හැඳ අම්මා සමග පාසල වෙත පියනැගුවේ ය.

එදින පාසල පන්සලක අසිරිය ගෙන තිබුණි. ශබ්ද විකාශන යන්ත්‍රයෙන් බුදු ගුණ ගීත ප්‍රචාරය වෙමින් තිබුණි. පාසලේ වෙසක් අසිරිය සිසුන්ගේ සිල් සමාදන් වීමේ ආශාව තවත් වැඩි කළේ ය.

"මේ දැනුම් දීම සියලු ම දූ පුතුන්ටයි. සිල් සමාදන් වීම සඳහා සියලු ම දූ දරුවන් ප්‍රධාන ශාලාව වෙත පැමිණ හිඳ ගන්න. සිල්

සමාදන් කරවීම සඳහා ස්වාමීන් වහන්සේ වැඩමවීමට කටයුතු සූදානම්,'' යනුවෙන් නිවේදනය කෙරිණි.

මුතු කුඩය යටින් වඩින ස්වාමීන් වහන්සේගේ පා ධෝවනය සතිකට ද පා පිස දැමීම දිනෙත්ට ද පැවරී තිබුණි. ශාලාව මැද එළා තිබූ පාවඩය මතින් ස්වාමීන් වහන්සේ ධර්මාසනය වෙත වැඩම කළහ. එවිට සියලු දෙනා ම නැගිට සාධු නාද පැවැත්වූහ.

අටසිල් සමාදන් වීම සඳහා සූදානම් වන ලෙස ස්වාමීන් වහන්සේ දැන්වූ පසු සියලු දෙනා සිල් ඉල්ලීමේ වාක්‍යය කීවෝ ය.

**ඕකාස අහං භන්තේ තිසරණේන සද්ධිං**
**අට්ඨංග උපෝසථ සීලං ධම්මං යාචාමි**
**අනුග්ගහං කත්වා සීලං දේථ මේ භන්තේ**
**අනුකම්පං උපාදාය**

සිසුන් සිල් සමාදන් කරවීමෙන් අනතුරුව ස්වාමීන් වහන්සේ දේශනා කළේ පුංචි උපාසක උපාසිකාවන් අද දවසේ සංවරව, සංසුන්ව සිටිය යුතු බව ය. හොඳින් සීලය ආරක්ෂා කර ගත යුතු බව ය.

ඊළඟට පුංචි පෙරහැරක් සංවිධානය කර බුද්ධ පූජාව තැන්පත් කරන ලදි. සියලු දෙනා ගාථා සජ්ඣායනා කරමින් බුද්ධ පූජාව පූජා කළහ.

හීල් දානය ගත් සිසුහු ධර්ම දේශනාවකට සවන් දුන්හ. වෙසක් පොහොය පිළිබඳ කරුණු රාශියක් එම ධර්ම දේශනයෙන් ඔවුනට දැනගත හැකි විය.

භාවනා වැඩසටහන සැම දෙනාගේ ම සිත සංවර කර ගැනීම සඳහා වැදගත් වන බව ස්වාමීන් වහන්සේ දේශනා කළහ. සැබැවින් ම සිසුන් නිහඬව, සංවරව භාවනාවට එක් වීම ගැන ගුරුවරු සහ දෙමාපියෝ බෙහෙවින් සතුටු වූහ.

අනතුරුව දහවල් බුද්ධ පූජාව පූජා කළ ඔවුහු දහවල් දානය සඳහා සූදානම් වූහ. දානය ගැනීමට පෙර දානය සකස් කර දුන් සැමට පින් ලබා දීමේ වාක්‍යය ගුරුතුමිය විසින් කියවන ලදි.

“වණ්ණුපථ ජාතකය” ඇසුරින් ස්වාමීන් වහන්සේ කළ ධර්ම දේශනය කාගේත් සිත් ගත්තේ ය.

සියලු ම ගුරු මෑණිවරු, පියවරු හා දූ දරුවෝ එක් ව **කරණීය මෙත්ත සූත්‍රය** සජ්ඣායනා කළහ.

සවස ස්වාමීන් වහන්සේ වැඩම කර සිසුනගේ සිල් පවාරණය කරවූහ. සතික අම්මා ළඟට පැමිණ අම්මාට වැන්දේ ය.

“පුතාලගෙ සිල් වැඩසටහන හරි ම අගෙයි,” අම්මා කීවා ය.

“අම්මේ මං ඊළඟ පෝය දවසට පන්සලේ සිල් සමාදන් වෙනවා,” සතික කීවේ ය.

“මගේ පුතාට තුනුරුවන් සරණයි!” කියමින් අම්මා සතිකගේ හිස අතගෑවා ය.

## ක්‍රියාකාරකම



**පිළිතුරු ලියන්න.**

1. සිල් වැඩසටහනට පෙර පාසලේ සිදු කළ කාර්යයන් 3ක් ලියන්න.
2. සිල් වැඩසටහනේ තිබුණු අංග පෙළගස්වා ලියන්න.

# 21 නායකයා

(වේදිකාවේ තිරය විවෘත විය. සිසුහු **"නායකයා"** නම් නාට්‍යය රඟදැක්වීම ආරම්භ කළහ.)

ගැල් නායකයා - සුනිමල ඊයේ රෑ මට නින්ද ගිය නිසා ගොනුන්ට අණ දෙන්න කෙනෙක් නැති වුණා. ඒ නිසා ඊයේ හවස අපි හිටපු තැනට ම ගොන්නු ගැල් අරගෙන ඇවිත් තියෙනවා.

සුනිමල - නායකතුමනි, අපි දැන් මොක ද කරන්නේ? මිනිස්සුන්ට ගොන්නුන්ට කොහොම ද මේ නිරුදක කාන්තාරේ අපි වතුර සොයා ගන්නේ?

නන්දිමිත්‍ර - තව එක දවසකින් ගමන ඉවර වෙන නිසා ඊයේ ඉතුරු වතුර විසි කරලා දැම්මනේ. මේ කාන්තාරෙ අපට වතුර නැතිව මිය යන්න සිද්ධ වේවි ද?

ගැල් නායකයා - අපි දැන් මුහුණ දීලා ඉන්නේ ලොකු කරදරේකට. ගැල් සාත්තුවේ නායකයා විදියට මං හැම කෙනකුගෙ ම ජීවිත බේරගන්න විදියක් කල්පනා කරන්න ඕනෑ. පහුගිය දවස්වල මගේ නායකත්වය, මගේ තීරණ කවුරුත් කැමැත්තෙන් පිළිගත්තා. ඒ විදියට වැඩ කළා. නායකයා විදියට මට ලොකු වගකීමක් තියෙනවා ඔබ සැම දෙනාගෙ ම ජීවිත ගැන. මේ අවස්ථාවේ අපි හැමෝම එකතු වෙලා මේ කරදරයෙන් බේරෙන්න උත්සාහ කරමු.

සුනිමල - ඔව් අපි සියලු දෙනා එකතු වී නායකතුමාට උදවු කරමු.

(ගැල් නායකයා හාත්පස මනාව පරීක්ෂා කර බලයි)

ගැල් නායකයා - ආ..... අර ඈතින් පේනවා නේද ඊතණ පඳුරක්. යමු අපි එතැනට ගිහින් බලමු.



සුභූති - ඔව්, හොඳට වැඩුණු ඊතණ පඳුරක්.

ගැල් නායකයා - කාන්තාරේ ඊතණ පඳුරක් වැඩෙනවා නම් මෙතන වතුර තියෙන්න ම ඕනේ. අපි මේ පඳුර ගලවලා දාලා පොළොව හාරලා බලමු.

නන්දිමිත්‍ර - එහෙමයි නායකතුමනි.

ගැල් නායකයා - සුනිමල, ගිහිං ගැල්කරුවන් කීපදෙනෙක් අඬගහගෙන එන්න. කරත්තවල තියෙන පොළොව හාරන්න පුළුවන් උපකරණත් අරගෙන එන්න.

සුනිමල - එහෙමයි නායකතුමනි.

ගැල් නායකයා - නන්දිමිත්‍ර, සුභූති අපි මුහුණ දීලා ඉන්න කරදරෙන් ගැලවෙන්න නම් අපි එකමුතු වෙන්න ඕන. වෙහෙසයි කියලා හිත දුර්වල

කරගන්න එපා. අපි කවුරුත් එකතු වෙලා පඳුර ගලවලා දාලා පොළොව හාරලා බලමු. මෙතන වතුර තියෙන්න ම ඕනෑ.

නන්දිමිත්‍ර සහ සුභූති - හොඳමයි අපි එහෙම කරමු.

(සුභූති හා නන්දිමිත්‍ර එකතු වී පඳුර ගලවා දමා එතැන පොළොව හාරන්නට පටන් ගනිති. තවත් ගැල් කරුවන් කීප දෙනෙකුත් ඒ සඳහා එකතු වී වැඩ කරති. සෑහෙන වේලාවකට පසු ව ගැඹුරු වළක් කැණීමට ඔවුනට හැකි වෙයි. එහෙත් අවසානයේ පතුලේ කළු ගලක් හමුවීමෙන් ඔවුහු මන්දෝත්සාහී වෙති.)

සුභූති - හරි ම මහන්සියි. අපි කොච්චර පොළොව හෑරුවද? දැන් තියෙන්නේ විශාල ගලක් විතරයිනේ.

(ගැල් නායකයා වළට බැස පතුලේ ඇති ගලට කන තබා බලයි.)

ගැල් නායකයා - මේ ගල යටින් වතුර පාරක් ගලන හඬක් ඇහෙනවා. අපි මේ යකඩ මිටිවලින් ගහලා ගල බිඳිමු.

ගැල්කරුවෝ - මේ ගල බිඳින්න පුළුවන් වෙයි ද නායකතුමනි?.

ගැල් නායකයා - අපි උත්සාහ කළේ නැත්නම් මේ කාන්තාරේ ම අපට මිය යන්න සිද්ධ වේවි.

නන්දිමිත්‍ර - ඔව්! ඔව්! අපේ නායකතුමා කවදාවත් අපට වැරැදි දෙයක් කියලා නෑනේ.

සුනිමල - හයියෙන් ගහලා ගල බිඳිමු. ඔන්න එහෙනම් එකයි... දෙකයි.... තුනයි....

සුභූති - ආ.... මෙන්න ගල බිඳුණා. මෙන්න.... මෙන්න.... වතුර එනවා.

(ගැල්කරුවෝ ප්‍රීතියෙන් ඔල්වරසන් දෙති.)

| | | |
|---|---|---|
| ගැල් නායකයා | - | කවුරුත් මං කියන දේ ඇහුවා. එකතු වෙලා වැඩ කළා. අපි අපේ අභියෝගය ජය ගත්තා. දැං ඉතින් කවුරුත් නාලා, කෑම උයලා, කාලා බීලා ගොනුන්ටත් වතුර පොවලා, නාවලා, කන්න දීලා හවසට ගමන පිටත් වෙමු. අද සවස ආපසු පිටත් වෙනකොට මෙතැන සලකුණක් තබලා යමු. |
| සුනිමල | - | ඒ මොකට ද නායකතුමනි? |
| ගැල් නායකයා | - | මේ කාන්තාරේ ප්‍රසිද්ධ නිරුදක කාන්තාරේ කියලනේ. නිරුදක කියන්නේ වතුර නෑ කියන එකනේ. අපි මෙතැන කොඩියක් ඔසවලා වතුර තියෙන තැනක් බව දන්වමු. කාන්තාරේ හරහා යන අනිත් අයටත් මෙතනින් වතුර ලබාගන්න පුළුවන් වේවි. |



| | | |
|---|---|---|
| ගැල්කරුවෝ | - | ඒක බොහොම හොඳ අදහසක්. අපි එහෙම කරමු. |

**(වණ්ණුපථ ජාතක කථාව ඇසුරින් රඟ දක්වන ලද නායකයා නම් නාට්‍යය අවසන් කරමින් වේදිකාවේ තිරය වැසිණ.)**

## ක්‍රියාකාරකම

**පිළිතුරු ලියන්න.**

1. නායකතුමා කාන්තාරයේ තැනක වතුර ඇති බවට අනාවැකියක් පළකළේ කුමක් දැකීමෙන් ද?
2. එම ස්ථානය හාරාගෙන යන විට හමුවූයේ කුමක් ද?
4. මෙහි සඳහන් නායකතුමා සතු ගුණාංග මොනවා ද?

## පුහුණුවට

විපතක් වූ විට - දිරිමත් විය යුතු
විපතෙදි කාටත් - පිහිටක් විය යුතු

# 22 දන්නා දේ කියා දී උදවු කරමු

ගුරුතුමා පන්තියට ආවා. ළමයි කවුරුත් නැගිට්ටා.

"ආයුබෝවන් තෙරුවන් සරණයි! දරුවනි."

"ආයුබෝවන් තෙරුවන් සරණයි! ගුරුතුමනි."

ආචාර කිරීමෙන් පසු ළමයි නැවතත් වාඩි වුණා. ගුරුතුමා පන්තිය ඉදිරියට ආවා.

"දරුවන්ට හොඳ පණිවුඩයක් දෙන්නයි මං දැන් සූදානම් වෙන්නේ."

ළමයි පණිවුඩය අහන්න උනන්දු වුණා.

"මෙවර පාසලේ ත්‍යාග ප්‍රදානෝත්සවයට අලුත් අංගයක් එකතු කරලා තියෙනවා. ඒ තමයි සෑම පන්තියකින් ම හොඳ ම ළමයකු තෝරා ත්‍යාගයක් පිරිනැමීම. එතැන දී අපි ළමයකු ගැන කරුණු කිහිපයක් සලකා බලනවා.

"දිනපතා පාසලට ඒම, පොත්පත් පිරිසිදුව තබා ගැනීම, ගුරුවරුන්ට කීකරුව ඉගෙනීමේ කටයුතු කිරීම, දෙමාපියන්ට ගුරුවරුන්ට ගරු කිරීම වගේ සුවිශේෂ ගුණාංග සොයා බලා ලකුණු දෙනවා.

"මීට අමතරව ළමයින්ටත් අවස්ථාව තියෙනවා තමන්ගේ පන්තියෙන් හොඳ ම යාළුවෙක් තෝරන්න."

කතාව නතර කළ ගුරුතුමා ළමයින් දෙස බැලුවා. ළමයින් ඉතා ම ඕනෑකමින් කතාව අසාගෙන සිටින ආකාරය දුටුවා.

"දැන් මේ දරුවන්ට කියන්න පුළුවන් මේ පන්තියේ ඉන්න හොඳ ම ළමයෙක් ගැන. එයා හොඳ ඇයි කියලත් කියන්න ඕන." ගුරුතුමා කිවුවා.

"සුජානි හරි ම හොඳයි. කරුණාවන්තයි," තිළිණි කිවුවා.

"සුජානි ගැන වෙන මොනවා ද කියන්න තියෙන්නෙ?" ගුරුතුමා ඇසුවා.

කවුරුත් නිශ්ශබ්දව සිටියා.

"තිලක් හුඟක් හොඳයි. තිලක් ගේන කෑම අපටත් බෙදලා දෙනවා," කසුන් කිවුවා.

"වෙන මොනවා ද තිලක් ගැන කියන්න තියෙන්නෙ?" ගුරුතුමා ළමයින්ගෙන් ඇහුවා.

කවුරුත් කතා කළේ නෑ.

"මුදිතා හුඟක් හොඳයි. කරුණාවන්තයි. උදෙන් ම පාසලට එනවා," තාරුකා කිවුවා.

"මුදිතා ගැන වෙන මොනවා ද කියන්න තියෙන්නෙ?" ගුරුතුමා  ළමයින්ගෙන් ඇහුවා.

"අපට ඉගෙන ගන්න උදවු කරනවා," රමණී කිවුවා.

"ඒ ගැන තව විස්තර ටිකක් කියන්න," ගුරුතුමා රමණීට කිවුවා.

"අපට අමාරු පාඩම් කියා දෙනවා."

"මොනවා ද අමාරු පාඩම්?"

"මට ගණිතය අමාරුයි, මම උදෙන් ම ඇවිත් මුදිතාගෙන් අමාරු ගණන් අහගන්නවා. මුදිතා කරුණාවෙන් අමාරු ගණන් මට තේරුම් කරලා දෙනවා. ඒ නිසා මම දැන් ගණිතය පාඩමට හුඟක් ආසයි," රමණී කිවුවා.

"මට රචනා ලිවීම අමාරුයි. මුදිතා මට රචනාවලට ඕන කරුණු කියා දෙනවා. පිළිවෙළකට රචනාව ලියන හැටිත් කියා දෙනවා. පොත් පත්තර කියවලා කරුණු සොයාගන්න කියලත් උනන්දු කරවනවා," තුෂාරි කිවුවා.

"තවත් තොරතුරු තියෙනවා ද මුදිතා ගැන කියන්න?" ගුරුතුමා නැවතත් පන්තිය දිහා ඕනෑකමින් බලා ඇසුවා.

"මුදිතා හැමදාම හවසට අසල්වැසි නංගිලා මල්ලිලා කීපදෙනෙකුට පාඩම් කියලා දෙනවා කියලා මම දන්නවා," යි තුෂාරි කිවුවා.



“අකුරු හරියට ලියන්න, නිවැරැදි ව ලියන්න කියලා මුදිතා මට කියලා දෙනවා. මගේ අකුරු ඉස්සර ලස්සන නෑ. මුදිතා කියා දුන්නට පස්සෙ මට ලස්සනට අකුරු ලියන්න පුළුවන්. මං දැන් ලියන්නත් හරි ම ආසයි,” අකිල කිවුවා.

“චිත්‍ර ඇඳලා පාට කරන්න ගත්තා ම මට පාට තෝරගන්න අමාරුයි. මුදිතා මට ඒකට උදවු කරනවා. චිත්‍ර ගුරුතුමී කිවුවා දැන් මගේ චිත්‍ර හරි ම ලස්සනයි කියලා. මට හරි ම සතුටුයි,” කමලානි කිවුවා.

“මුදිතා හරි ම හොඳයි,” පන්තියේ හැම දෙනා ම කිවුවා.

“මට දැන් වැටහෙනවා මුදිතා කාටත් උදවු කරන හොඳ ළමයෙක් බව. තමන් දන්න දේ කියා දෙන්න සමහර ළමයි කැමැති නෑ. මුදිතා ළඟ තියෙන්නේ අනතිමානී ගුණය. ඒ කියන්නේ අහංකාරකම හා ආඩම්බරකම නැතිකම. ඒ නිසා තමන් දන්නා දේ ආඩම්බරකමක් නැතිව යහළුවන්ට කියලා දෙනවා. මුදිතා ළඟ තියෙන්නේ උසස් ගුණයක්. ඒ නිසානෙ පන්තියේ ළමයි ඔක්කොම මුදිතා හොඳ ළමයෙක් බව කිවුවේ. එහෙනම් මේ පන්තියේ හොඳ ම ළමයා විදියට මුදිතා තෝරාගන්න මම කැමැතියි,” ගුරුතුමා මුදිතා දිහා බලා කිවුවා.

පන්තියේ ළමයි සියලු දෙනා ම අත්පුඩි ගැහුවා.

මුදිතා වාඩි වී සිටි තැනින් නැගිට ගොස් ගුරුතුමාට වැන්දා.

## ක්‍රියාකාරකම

අදාළ වචන යොදා හිස්තැන් පුරවන්න.

1. මෙවර ත්‍යාග ප්‍රදානෝත්සවයට ________________ ළමයා තෝරා ත්‍යාගයක් පිරිනැමීමේ අංගය ද එකතු විය. (දක්ෂතම / හොඳ ම).
2. හොඳ ම යහළුවකු තේරීමේ අවස්ථාවට පන්තියේ සියලු ම සිසුන්ට ද සහභාගි වීමට ඉඩක් ලබා දී ________________ (තිබුණි / නොතිබුණි)
3. පන්තියේ සිටි ශිෂ්‍ය ශිෂ්‍යාවන් අතරින් හොඳ ම ළමයා ලෙස තේරුණේ ________________ ය. (රමණී / මුදිතා)
4. මුදිතා පන්තියේ යහළුවන්ට සැම විට ම උදවු __________ ය. (කළා / නොකළා)
5. මුදිතා ළඟ තිබූ ගුණය හැඳින්වෙන්නේ ____________ ගුණය නමිනි. (නිහතමානී / අනතිමානී)

# 23 සුභාෂිතය යහපත්ය

ගුරුතුමී පන්තියට එන විට වාඩි වෙලා හිටපු ළමයි ඔක්කොම හිට ගත්තා.

"ආයුබෝවන් තෙරුවන් සරණයි! දරුවනි," ගුරුතුමී කිවුවා.

"ආයුබෝවන් තෙරුවන් සරණයි! ගුරුතුමී."

ගුරුතුමී ළමයි කවුරුත් දිහා හොඳට බැලුවා. සුජානි දුකෙන් ඉන්නවා ගුරුතුමීට පෙනුණා. ගුරුතුමී ඒ ගැන සුජානිගෙන් ඇහුවා.



"මට අද උදේ ම ළමයෙක් නරක වචනවලින් බැන්නා. මං කිසි වරදක් කළෙත් නැහැ," සුජානි කිවුවා.

"ඔව් ගුරුතුමී අපටත් ඇහුණා. ඒ ළමයගෙ වචන හරි නපුරුයි," අනෙක් ළමයිනුත් කිවුවා.

"ඒ ළමයා කවුද කියල මම දැන් අහන්නේ නැහැ. පසුව ඒ ගැන කතා කරමු. දැන් හිත හදාගෙන පාඩමට සූදානම් වෙමු," කියූ ගුරුතුමිය සුජානිගේ හිස සහ මුහුණ අතගෑවා. සුජානි අහිංසක ලෙස සිනාසුණා.

"අද අපට ඉගෙන ගන්න තියෙන්නෙත් සුභාෂිත වචන ගැනයි. පුතාලා කියන්න බලන්න සුභාෂිත වචන කියන්නේ මොනවා ද කියලා," ගුරුතුමී විමසුවා.

"හොඳ වචන," තිළිණි කිවුවා.
"යහපත් වචන," සුජිත් කිවුවා.

"ඔව් දරුවනේ, අපි කතා කරන යහපත් වචනවලට තමයි සුභාෂිත වචන කියලා කියන්නේ. බොරු කීම, කේලාම් කීම, පරුෂ වචන කීම, හිස් වචන කතා කිරීම හොඳ ළමයි කරන්නේ නැහැ. වෙනත් කෙනකුගේ හිත රිදෙන වචන කතා කිරීම නරක ගතියක්. සතුන් වුණත් පරුෂ වචන කියනවාට බනිනවාට කැමැති නැති බව දුවලා පුතාලා ඉගෙනගෙන තියෙනවා නේද?"

"ඔව් ගුරුතුමී නන්දිවිසාල ජාතක කතාව අපිට මතකයි. දහම් පාසලේ දී අපි ඉගෙනගෙන තියෙනවා."

"අපි කොහේ දී ද සුභාෂිත වචන කියන්න ඕනෑ?" ගුරුතුමී ඇහුවා.

"පන්සලේ දී," සිතුලි කිවුවා.
"පන්තියේ දී," නාලක කිවුවා.
"ගෙදර දී," කලණි කිවුවා.

"හොඳයි. පන්සලේ දි, පන්තියේ දි, ගෙදර දි විතරක් නෙවෙයි, අපි හැම තැනක දී ම යහපත් වචන කතා කරන්න ඕන. ඒකට වෙලාවක් ස්ථානයක් ඕනෑ නැහැ. ඔයගොල්ලො ඔක්කොම යාළුවෝ. යාළුවෝ වුණා ම සමගියෙන් ඉන්න ඕන. ආදරයෙන් කරුණාවෙන් කතා කරන්න පුරුදු වෙන්න ඕනෑ."

"සුභාෂිත වචන කතා කරන අයට කවුරුත් ආදරය කරනවා. ඒ වගේ ම කවුරුත් ගරු කරනවා. සුභාෂිත වචන කතා කරන අයගේ අවවාද අහන්න හැම දෙනා ම කැමැතියි. සුභාෂිත වචන නිසා හිතට දැනෙන්නේ ලොකු සතුටක්, සැනසීමක්," ගුරුතුමී නැවතත් කිවුවා.

**පුහුණුවට**

- පහත සඳහන් ගාථා පාද දෙක මතකයෙන් කියන්න පුරුදු වෙන්න.

"සුභාසිතා ච යා වාචා
ඒතං මංගලමුත්තමං"

# 24 සමගිය උතුම් වේ

අත්තම්මාත්, සීයාත් එනවා දුටු කසුන් මිදුලට දුවගෙන ගියා; ගේට්ටුව ඇරියා.

"දැන් නිවාඩු කාලේ නේද පුතේ?" සීයා ඇහුවා.

"ඔව් සීයේ, මාසයක් ම නිවාඩු," කසුන් කිවුවා.

කසුන් අත්තම්මාගේ අතේ තිබුණු බෑගය ඉල්ලා ගත්තා. කවුරුත් ගෙට ගියා. සීයා තම අතේ තිබුණු අනෙක් බඩුමුට්ටු මේසය උඩ තිබ්බා.

සීයයි, අත්තම්මයි සාලේ වාඩි වුණා. සාලේ තිබුණු පිළිවෙළ ගැන සතුටු වුණු අත්තම්මා කසුන්ගෙන් මෙසේ ඇසුවාඃ "කසුන් පුතේ, ඔයාලා කොහොම ද මේ තරම් පිළිවෙළට ගෙදර තියාගන්නේ?"

"අත්තම්මේ, අපේ අම්මයි තාත්තයි අපට කියලා දීලා තියෙන්නේ, අපි යම් දෙයක් අරන් වැඩක් කළාට පස්සෙ ඒක ගත්ත තැනින් ම ආපසු තියන්න කියලා. මමයි, මල්ලියි, නංගියි තුන් දෙනා ම ඒ විදියට ම වැඩ කරනවා. එක් කෙනකුට අමතක වුනොත් දැක්ක කෙනා අරන් තියනවා. අපි අතර බේදයක් නෑ"

"කොයි තරම් හොඳයි ද? හොඳ ළමයි තුන් දෙනෙක් ඔයාලා."

"අත්තම්මා බලන්නකෝ අපේ කාමරේ ලස්සන," නංගී අත්තම්මාගේ අතින් අල්ලාගෙන කාමරේට ගියා.

ඔවුන්ගේ පොත් වෙන වෙන ම පිළිවෙළට පොත් රාක්කයේ අසුරා තිබුණා. ඒ වාගේ ම ඔවුන්ගේ ඇඳුම්, ඇඳුම් රඳවනයේ එල්ලා තිබුණා. ඇඳන් මත හෝ බිම හෝ කිසි ම ඇඳුමක් අමතක වීමකින්වත් දමා තිබුණේ නෑ. සීයාත් ඔවුන්ගේ කාමරේට ආවා.

"මම ගේ හැම තැන ම ඇවිද්දා. හරි ම ලස්සනයි. කොහේවත් එක කොළ කැල්ලක්වත් වැටිලා නෑ." යි සීයා කීවා.

"ඔව් සීයේ අපි තුන්දෙනා ම සමගියෙන් ගෙදර පිරිසිදුවට තියාගන්න පුරුදු වෙලා ඉන්නෙ. බිම කඩදාසියක් වැටිලා තිබුණොත් අපි ඒක අහුලලා අයින් කරනවා."

"අපි අද ඉස්කෝලේ ගිහින් ඇවිත් ඇඳගෙන ගිය ඇඳුම් ගලවලා රෙදි වැලේ වැනුවා. දහඩිය වේළෙන්න වැලට ඇඳුම් දාන්න කියලා අම්මා අපට කියාදීලා තියෙනවා," නංගී කිවුවා.

"සීයා දන්නවා ද? අපි සෙනසුරාදා, ඉරිදා, නිවාඩු දවස්වලට අම්මාත් තාත්තාත් එක්ක එකතුවෙලා මුළු ගෙදරමත්, මල් පාත්තිත්, මිදුලත් පිරිසිදු කරනවා. මල් පැළවලට පොහොර, වතුර දානවා, වෙන කවුරුවත් කරයි කියලා බලන් ඉන්නේ නෑ" යි කසුන් කීවා.

"ඇයි, තාත්තාගේ එළවළු කොටුව? අපි එළවළු කොටුවේ එළවළු පැළවලටත් වතුර, පොහොර දානවා. මම තමයි හැම දා ම හවසට එළවළු පැළවලට වතුර දාන්නෙ," මල්ලී සතුටෙන් කීවා.

"සීයේ මමයි අයියයි මල් පැළවලට වතුර දානවා දවසක් ඇර දවසක්. ඒ කියන්නේ අද මම නම් හෙට අයියා, අයියට අසනීපයක් හැදුණොත් ඒ දිනයටත් මම වතුර දානවා" නංගිත් කිවුවා.

"හොඳ ළමයි, ඔය විදියට ගෙදර හැමෝම සමගියෙන් වැඩ කළොත් තමා ඔයාලට දියුණු වෙන්න පුළුවන්."

ලීලාවතී නැන්දා සීයාටයි අත්තම්මාටයි තේ හදාගෙන ආවා. "ලොකු මහත්තයයි, ලොකු නෝනයි තේ ටිකක් බීලා ඉන්න. මහන්සිත් ඇතිනේ."

"ලීලාවතී ගෙවල් මිදුල් අතුගාලා පිළිවෙළට තියාගන්නවා නේද?" සීයා ඇසුවා.

“අනේ නෑ ලොකු මහත්තයා, මේ දරුවෝ තුන්දෙනා මට ඒවා කරන්න ඉඩ දෙන්නෙ ම නෑ. එයාලා එකතු වෙලා හැමදාම ගේ මිදුල අතුගාලා පිළිවෙළට තියා ගන්නවා. මට තියෙන්නෙ කුස්සිය පිළිවෙළට තියාගන්න එක විතරයි.”

“බොහොම හොඳයි දරුවනේ, ඔයාලා දන්නවා ද වේයා කියන පුංචි සතා? එයා පොඩි වුණාට හැම දෙනා ම එකට එකතු වෙලා සමගියෙන් වැඩ කරනවා. හැමෝම එකතු වෙලා පොඩි පොඩි මැටි ගුළි ගෙනත් ලොකු තුඹසක් හදනවා. ඒක ඇතුළේ තමයි ඒගොල්ලෝ ජීවත් වෙන්නේ. ඒ තුඹස අපට අතින් කඩන්නවත් බැරි තරම් ශක්තිමත්.”

“ඔව් සීයේ අපේ වත්ත කෙළවරේ තියෙනවා ලොකු තුඹසක්,” මල්ලී කීවා.

“බලන්නකෝ පොඩි වුණත් වේයා සමගියෙන් හදන තුඹසේ ශක්තිමත්කම, ඒ වගේමයි ඔයාලාත් මේ විදියට සමගියෙන් ඉන්නකොට කාටවත් බෑ ඔයාලට කරදර හිරිහැර කරන්න.”

“ඔව් සීයේ, අපි තුන්දෙනා කිසි ම දෙයකට තරහ වෙන්නේ නෑ, රණ්ඩු වෙන්නෙත් නෑ. පාසලෙන් දෙන ගෙදර වැඩ නංගිටයි මල්ලිටයි මම කියා දෙනවා. අපි අම්මට තාත්තටත් පුළුවන් විදියට උදවු කරනවා.”

වැඩට ගිය අම්මාත් තාත්තාත් සවස නිවසට එන විට හැම දෙනාම මිදුලට ගියා.

“අම්මේ අත්තම්මයි සීයයි ආවා,” නංගී කීවා.

“අම්මලා ඇවිල්ලා ගොඩක් වෙලා ද?” අම්මා අත්තම්මාගෙන් ඇසුවා.

“නෑ දුවේ, දැන් ටිකක් වෙලා. අපි මේ ගෙදර පිළිවෙළට තියාගන්න හැටි ළමයි එක්ක කතා කර කර හිටියේ,” අත්තම්මා කීවා.

“අපේ මේ දරුවෝ තුන්දෙනා අපට ගොඩක් උදවු කරනවා අම්මේ, හවසට ගෙදර ඇවිත් අපට කරන්න තියෙන වැඩ ගොඩක් අඩුයි.” අම්මා කිවුවා.

“අද අපි ඔක්කොම එකතු වෙලා අත්තම්මටයි, සීයටයි හොඳ රසවත් කෑම වේලක් හදමු නේද?” අම්මා දරුවන්ගෙන් ඇසුවා.

“ඔය විදියට හැම දෙනා ම හැම දා ම සතුටින්, සමගියෙන් වැඩ කරන්න. ඔයාලා වාසනාවන්ත පවුලක්.” අත්තම්මා සතුටින් කීවේ නංගිත් මල්ලිත් මාත් තුරුල් කර ගනිමිනි.

## පුහුණුවට



සමගිය බලය වේ
සැම විට සතුට ඇති වේ
අසමගිය දුක වේ
එයින් විපතක් සැමට ඇති වේ

# 25 අපේ ගෙදර ආගන්තුක සත්කාරය

මගේ නම තරිඳු. ආගන්තුක අය එනවට අම්මත්, තාත්තාත් මාත් හරි ම කැමැතියි. ගිය සුමානේ ලොකු තාත්තයි, ලොකු අම්මයි, තරින්දි අක්කයි ආවා.

අපි ගේට්ටුව ළඟට ගිහිං ලොකු තාත්තලා ආදරයෙන් පිළිගත්තා. ලොකු තාත්තා රැගෙන ආ පලතුරු පෙට්ටිය තාත්තා අතට ගත්තා. ලොකු අම්මාගේ අතේ තිබුණු ගමන් මල්ල ගත්තේ අම්මා.



සියලු දෙනා නිවසට ගොඩ වී සාලයේ වාඩි වුණා. අම්මා බන්දේසියක් මත තැබූ වතුර වීදුරු කිහිපයක් රැගෙන ආවා. අමුත්තන් වතුර පානය කරන අතරතුර අම්මා තේ පිළියෙල කළා. අම්මා සකස් කර තිබූ රස කැවිලි, බන්දේසිය මත තබා මම අමුත්තන්ට පිළිගැන්වූවා.

ලොකු තාත්තලා අපේ ගෙදර දවස් තුනක් නතර වෙලා සිටියා. ඒ දවස් තුන අප ගත කළේ හරිම සතුටකින්. ලොකු අම්මයි, ලොකු තාත්තයි එක්ක අම්මටයි තාත්තටයි කතා කරන්න හුඟක් දේවල් තිබුණා. තරින්දි අක්කා මගේ ඉගෙනීමේ වැඩ ගැන අහලා ගණන් හදන්න, චිත්‍ර අඳින්න උදවු කළා.

ලොකු තාත්තලා ආපසු යන දවසේ මට දැනුණේ හරි ම දුකක්. ඊළඟ නිවාඩුවටත් අපේ ගෙදර එන්න තරින්දි අක්කා පොරොන්දු වුණා. අම්මයි තාත්තයි මමයි ලොකු තාත්තාටයි ලොකු අම්මාටයි වැන්දා. මම තරින්දි අක්කාටත් වැන්දා. තරින්දි අක්කා අපේ අම්මාටයි තාත්තාටයි වැන්දා. "ආගන්තුක සත්කාරයට බොහොම පින්." ඒ ලොකු තාත්තාගේ වචනයි. "ඕවා ඉතින් අපට අලුත් දේවල් නොවෙයිනේ. බුදු හාමුදුරුවොත් ආගන්තුක සත්කාරය උසස් දෙයක් බව දේශනා කරලා තියෙනවානේ," තාත්තා කීවා.



අපි අපේ වත්තේ වස විස නැතිව වගා කළ එළවළු සහිත පෙට්ටියක් ලොකු තාත්තලාට ගෙන යාමට සූදානම් කර දුන්නා. තාත්තයි, අම්මයි, මමයි ලොකු තාත්තලා එක්ක පාරට ගියා. "නිවාඩුවක් ලැබුණු වේලාවක අපිත් ඇවිත් යන්න එන්නම්," තාත්තා කීවා. නෑදෑයන් ගියාට පස්සෙ මට ඇතිවුණ දුක සවස තෙරුවන් වඳින තුරු ම අඩු වුණේ නැහැ.

## ක්‍රියාකාරකම

පිළිතුරු ලියන්න.

1. තරිඳුලාගේ ගෙදරට පැමිණි ආගන්තුකයන් කවුරු ද?
2. නිවසට පැමිණෙන ආගන්තුක අය වෙනුවෙන් කළ යුතු දේවල් 3ක් ලියන්න.

# 26 වැරැදි නොකිරීම යහපත් වේ

ජාලිය පාසල ඇරිලා ගෙදරට එනකොට පාර දෙපැත්තේ කිහිප දෙනෙක් හිටියා. සීයාත් ගේට්ටුව ළඟ හිටියා.

"මොක ද වෙලා තියෙන්නේ සීයේ?" ජාලිය ඇහුවා.

"සීතා නැන්දලාගේ ගෙදරට හොරු පැනලා. දැන් පොලිසියෙන් ඇවිත් හොරු අල්ලගෙන ගියා," සීයා කිවුවා.



"ඇයි සීයේ ඒගොල්ලො හොරකම් කරන්නේ?"

"සමහරු නැතිබැරිකම නිසා හොරකම් කරනවා. සමහරු පුරුද්දට හොරකම් කරනවා. තවත් සමහර අය ලෙහෙසියෙන් සල්ලි හොයා ගන්න හොරකම් කරනවා. අනුන්ගේ වස්තුවලට ආසාවෙන් හොරකම් කරන අයත් ඉන්නවා. කොහොම කළත් හොරකම් කිරීම හොඳ නෑ. ඒක වැරැදි වැඩක්," සීයා කිවුවා.

"හොරකම වගේ ම වැරැදි වැඩ තවත් තියනවා. මස් පිණිස සතුන් වෙළෙඳාම් කරන්න හොඳ නැහැ. වසවිස විකුණන්නත් හොඳ නැහැ. මත්ද්‍රව්‍ය වගේ ම අවි ආයුධ වෙළෙඳාම් කරන එකත් විශාල පවක්. මේ වගේ අධාර්මික වෙළෙඳාම් නොකරන්න කියලයි බුදුරජාණන් වහන්සේ දේශනා කළේ," සීයා තව දුරටත් ජාලියට කියා දුන්නා.

"ඔව් සීයේ අපට දහම් පාසලේ දී කියලා දුන්නා ලෝවැඩ සඟරාවේ කවියක්. ඒකෙන් කියවෙනවා අපි වැරැදි වැඩ කරන්න හොඳ නෑ කියලා."

"පුතාට මතක ද කවිය?" සීයා ඇහුවා.

"ඔව් සීයේ,

**අදමින් ජීවත් වනවා විතරට**
**දැහැමින් මිය යනු සොඳමයි දනහට**
**මෙලෙසින් වදහළ මුනි බණ සිහිකොට**
**සැබැවින් පින්කොට පැමිණෙවු නිවනට"**

"පුතා දන්නවා ද තේරුම?"

"ඔව් සීයේ. අධර්මයෙන් ජීවත් වෙන්න හොඳ නැහැ. ධර්මානුකූලව ජීවත් වෙන එක හොඳයි. අයහපත් දේ කරමින් බොහෝ කල් ජීවත් වෙනවාට වඩා ධාර්මිකව මිය යාම හොඳයි," ජාලිය කිවුවා.

"බුදුරජාණන් වහන්සේ දේශනා කළ ධර්මයට අනුව අපි පින්කම් කර, ධාර්මිකව ජීවත් වී නිවන් දකින්නත් උත්සාහ කරන්න ඕන," සීයා ජාලිය කියපු කවියේ අදහස සම්පූර්ණ කළා.

"ඔව් සීයේ හාමුදුරුවොත් අපට ඒ ගැන කියා දුන්නා."

"ඔව් පුතා. මගේ පුතාත් වැරැදි වැඩ නොකොට හොඳ දරුවෙක් වෙන්න උත්සාහ ගන්න ඕනෑ," කියමින් සීයා ජාලියගේ හිස අතගෑවා.

## ක්‍රියාකාරකම

**නිවැරැදි පිළිතුර තෝරන්න.**

1. (සොරකම් නොකිරීම / සොරකම් කිරීම) වැරැදි ක්‍රියාවකි.
2. සතුන් සහ මත්ද්‍රව්‍ය වෙළෙඳාම් කිරීම (වැරැදි බව / නිවැරැදි බව) බුදුරජාණන් වහන්සේ දේශනා කළ සේක.
3. ජාලිය දහම් පාසලේ දී ඉගෙන ගත්තේ 'ලෝවැඩ සඟරාවේ' (ගාථාවකි / කවියකි).
4. අප ජීවත් විය යුත්තේ (ධර්මයට අනුව ය / අධර්මයට අනුව ය).
5. බුදුරජාණන් වහන්සේ දේශනා කළ ධර්මයට අනුව අප (පින් කළ යුතු ය / පින් නොකළ යුතු ය).

# 27 නුවණ ඇති යහපත් අය

"තාත්තේ, තාත්තේ...

මෙන්න මී මැසි රංචුවක් අපේ වත්ත උඩින් යනවා. නංගී එන්න බලන්න," උදාර තාත්තාටත් නංගීටත් මිදුලට අඬගසමින් කීවේ ය.

"මී මැස්සො නවතින්න, වද බඳින්න තැනක් හොයනවා ඇති පුතේ..."

"තාත්තේ අන්න උන් අපේ කොහොඹ ගහේ බෙනය ළඟ එකතු වෙනවා." තාත්තා නංගී සමග මිදුලට පැමිණියේ ය.

"පුතේ මී මැස්සෝ වද බඳින්න තෝරාගෙන තියෙන්නේ හොඳ ම තැනක්," තාත්තා උදාරට කීවේ ය.

"ඒ වුණාට තාත්තේ කොහොඹ ගහේ පොතු, කොළ, මල්, ගෙඩි ඔක්කොම තිත්තයිනේ. මී මැස්සෝ එකතු කරන මී පැණිත් ඒ නිසා තිත්ත වෙයි ද තාත්තේ?" උදාර ඇසුවේ ය.

"පුතා හොඳ ප්‍රශ්නයක් ඇහුවේ. කොහොඹ ගහ කොයි තරම් තිත්ත වුණත් ඒ ගහේ බඳින මීයෙ පැණි තිත්ත වෙන්නේ නෑ. මම පුතාලට කියලා දෙන්නම් මේ ගැන කවියක්.

**"ගුණමකු දනන් හා**
**සමඟ විසුවත් නැණැති සුදනෝ**
**මනා ගුණ නොහරිත්**
**කොසඹ තුර තුළ බැඳි මීය මෙන්"**

"මේ කවිය රණස්ගල්ලේ හාමුදුරුවෝ ලියපු ලෝකෝපකාරය පොතේ තියෙන්නේ. මේ කවියේ තේරුම අහගන්නකෝ...

"නුවණැති මිනිස්සු ගුණමකුවන් ආශ්‍රය කළත් කවදාවත් තමන්ගේ යහපත් ගති ගුණ වෙනස් කරන්නේ නෑ. හරියට කොහොඹ තිත්ත වුණත් ඒ ගහේ බැඳපු මී වදයේ මී පැණි කවදාවත් තිත්ත වෙන්නේ නැහැ වගේ."

"ගුණමකුවන් කියන්නේ වැරැදි වැඩ කරන අය නේද තාත්තේ?"

"ගුණමකුවන් කියන්නෙ පුතේ, තමන්ට කවුරු හෝ කළ උපකාරයක් අමතක කරන, කෙළෙහි ගුණ නොසලකන අයට. ඒ අයට අසත්පුරුෂයන් කියලා කියන්නත් පුළුවන්."

"ඒ වගේ අයව ආශ්‍රය කරන්න හොඳ නෑ නේද තාත්තේ?"

"අපිට සමහර වෙලාවට ඒ අයවත් ආශ්‍රය කරන්න සිද්ධ වෙනවා මගේ පුතේ. ඒත් අපි ඒ වගේ වැරැදි වැඩ නොකර අපේ හොඳ ගතිගුණ ආරක්ෂා කර ගන්න හිතට ගන්න ඕනෑ. ඒ අයගේ වැරැදි වැඩවලට උදවු කරන්නවත් ඒ අය වගේ වැරැදි විදියට ජීවත් වෙන්නවත් නෙමෙයි ඒ අයව ඇසුරු කළ යුත්තේ. අපේ තියෙන හොඳ ගති ගුණ රැකගන්න දියුණු කර ගන්න අපි පුරුදු වෙන්න ඕනේ. එතකොට කොයි තරම් තිත්ත වුණත් කොහොඹ ගහේ බැඳපු මීයේ පැණි තිත්ත නෑ වාගේ අපේ ජීවිතත් ගුණ ධර්මවලින් දියුණුවට පත්වෙනවා."

"තාත්තේ, මම මේ කවිය කට පාඩම් කරගෙන නංගීටත්, යහළුවන්ටත් කියලා දෙනවා," යි උදාර කීවේ ය.

## ක්‍රියාකාරකම



ඔබත් පාඩමේ සඳහන් කවිය කටපාඩම් කර ගන්න.

# 28 සැප ලැබෙන්න පින් කරන්න

අපේ පන්සලට පිවිසෙන තොරණ ළඟ සිට පාර දෙපස විවිධ බණ පද ලියූ පුවරු එල්ලා ඇත. සමහර ඉරිදාවන්හි දහම් පාසලේ උදෑසන රැස්වීමේ දී අපේ ස්වාමීන් වහන්සේ අනුශාසනාව කරන්නේ එම බණ පදයක් ඇසුරෙනි. පසුගිය ඉරිදා තෝරාගෙන තිබුණේ පහත සඳහන් බණ පදයයි.

**"පුඤ්ඤානි කයිරාථ සුඛාවහානි"**

ස්වාමීන් වහන්සේ පැවසූ පරිදි එහි තේරුම **සැප ගෙන එන පින්කම් කරන්න** යන්නයි. අඩුපාඩු නැතුව, ආහාර පාන ආදිය අපට ලැබෙනවා නම් සැපකි. ලෙඩ රෝග නැතුව, සිතට දුකක් නැතුව, සතුටින් ඉන්න ලැබීමත් සැපකි. අපට ඒ සැප ලැබෙන්න පින් කරලා තියෙන්න ඕනෑ. අප මිනිසුන් වශයෙන් ඉපදිලා තරමක් හරි සැප ලබන්නේ පෙර පින් කර තිබෙන නිසයි. දැන් පින්කම් කර ගතහොත් ඉදිරියටත් සැප ලැබෙනු ඇත.

පින්කම් කියන්නේ හොඳ සිතින් කරන හොඳ ක්‍රියා. ස්වාමීන් වහන්සේ පැවසූ පරිදි අපට කළ හැකි පින්කම් කීපයක් මෙසේයි.

1. ස්වාමීන් වහන්සේලාට දානය පූජා කිරීම.
2. නැති බැරි අයට කරුණාවෙන් දයාවෙන් ආහාර පාන ආදිය පරිත්‍යාග කිරීම.
3. සතුන් මැරීමෙන් හා සතුන්ට හිංසා කිරීමෙන් වැළකී, ආදරයෙන් දයාවෙන් ඔවුන්ට සැලකීම.
4. තමන්ට නුදුන් දෙයක් සොර සිතින් නොගැනීම.
5. නරක වචන කතා නොකිරීම හා හොඳ වචන කතා කිරීම.
6. සෑ මළුව, බෝ මළුව, විහාර මළුව ඇමදීම හා මල් ආසන පිරිසිදු කිරීම.
7. ස්වාමීන් වහන්සේලාට, මවුපියන්ට, ගුරුවරුන්ට සහ වැඩිහිටියන්ට ගරු සැලකිලි දැක්වීම.

8. බණ ඇසීම සහ ඉගෙන ගත් බණ පද අනුන්ට කියා දීම
9. දෙවියන්ට, නෑදෑයන්ට, මිය ගිය අයට පින් දීම
10. අනෙක් අය කරන පින්කම්වලට උදවු කිරීම සහ ඒවා දැක බලා සතුටු වීම
11. භාවනා කිරීම

මේ පින්කම් අප කළ යුත්තේ කවුරුන් හෝ කියන නිසා නොවෙයි. කාටවත් බය නිසා නොවෙයි. කාටවත් පෙන්වන්නවත් නොවෙයි. මේ වගේ පින්කම් කළා ම හිතට දැනෙන්නේ ලොකු සතුටක්, සැනසීමක්. පින්කම් කරන අයට සමාජයෙන් ලැබෙන්නෙත් පැසසුම්. ඒ නිසයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ සැප ගෙන දෙන පින්කම් කරන්න කියා. කුඩා කල සිට ම අපිත් පින්කම් කරමු. පින් කරන අයට උදවු කරමු; පින් කරන අයගේ ගුණ කියමු.

## ක්‍රියාකාරකම



1. මෙම පාඩමේ සඳහන් බණ පදය සහ එහි සිංහල තේරුම මතකයෙන් කියන්න.
2. පාඩමේ දක්වා ඇති පින්කම් අතරින් ගෙදර දී කළ හැකි පින්කම් හතරක් ලියන්න.

## පැවරුම



1. ඔබ කරන පින්කම් පොතක සටහන් කර මවුපියන්ට පෙන්වන්න.
2. තම තමන් කරන පින්කම් ගැන පන්තියේ අනෙක් අය සමග කතා කිරීම පුරුද්දක් කර ගන්න.

# 29 දහම් අසමු දරමු පිළිපදිමු

දහම් පාසලේ උදෑසන රැස්වීම සඳහා අපේ ලොකු හාමුදුරුවන් වහන්සේ වැඩම කළහ. උන්වහන්සේ අනුශාසනාව සිදු කළේ අපේ පැරණි දහම් පොතක් වන රසවාහිනිය පිළිබඳවයි.




බෝසත් දුවේ, පුතේ, රසවාහිනිය කියන්නේ අපේ පැරණි පොතක්. එය දඹදෙණි යුගයේ ලියවුණු වටිනා බණ පොතක්. රසවාහිනිය රචනා කර ඇත්තේ වේදේහ හාමුදුරුවන් විසින්.

අද මම ඔබට කියා දෙන්නේ එම පොතේ එන කුඩ්ඩරජ්ජවාසී තෙරණුවන්ගේ කතාවේ ඇතුළත් ගාථාවක්.

ධම්මං විනා නත්ථි පිතා ච මාතා
තමේව තාණං සරණං පතිට්ඨා,
තස්මාහි භෝ කිච්චමඤ්ඤපහාය
සුණාථ ධාරේථ චරාථ ධම්මේ

එහි තේරුම නම්,

**ධර්මය තරම් වටින පිය කෙනෙක් ද, මෑණි කෙනෙක් ද නැහැ. එම ධර්මය ම අප රකිනවා. ධර්මය අපට පිහිට සඳහා ම පවතිනවා. එනිසා අනෙක් කටයුතු අතහැර අප සැම දෙනා ධර්මය ඇසීමත්, ධර්මය මතක තබා ගැනීමත්, මතක තබා ගත් ධර්මය පිළිපැදීමත් කළ යුතු ය.**

පින්වත් දරුවනි, මෙම ගාථාවේ එක් පදයක් අපේ සමාජය තුළ හරි ම ජනප්‍රිය වී තියෙනවා. ඒ **සුනාථ ධාරේථ චරාථ ධම්මේ** යන්නයි. අපි හැමෝ ම ධර්මය ඇසීමටත්, අසන ලද ධර්මය මතක තබා ගැනීමටත්, ඒ අනුව හැසිරීමටත් පුරුදු වීම ඉතා වටිනවා. එමගින් සැම විට ම අපට යහපතක් ම වන බවත්, දුක දුරු වන බවත් බුදුරජාණන් වහන්සේ දේශනා කර තිබෙනවා. මේ දරුවන් සියලු දෙනා වැඩිහිටියන්ගේ උදවු ඇතිව මෙබඳු බණ පොත් කියවා තමන්ගේ ධර්ම ඥානය දියුණු කරගෙන යහපත් පුරවැසියන් වීමට කටයුතු කරන්න ඕනෑ. සැම දෙනාට ම තෙරුවන් සරණයි!

## ක්‍රියාකාරකම

1. සුනාථ ධාරේථ චරාථ ධම්මේ යන ගාථා පාඨයේ තේරුම ලියන්න.

## පුහුණුවට

අසවු දරවු දම් - හැසිරෙවු එදම්හි.

# 30 නාගදීපය



නාගදීපය අපේ රටේ තිබෙන පැරණි ම පූජනීය ස්ථානයකි. බුද්ධත්වයට පත් වීමෙන් අවුරුදු පහකට පසු ව එළඹෙන බක් මාසයේ දී බුදුරජාණන් වහන්සේ නාගදීපයට වැඩම කර ඇත. ඒ උන්වහන්සේ දෙවන වර ලංකාවට වැඩම කළ අවස්ථාවයි. එසේ වැඩම කළේ අරගලයක් නැවැත්වීමට ය.

නාගදීපයේ රජකම් කළ මහෝදර නා රජුත් වඩුන්නාගල ප්‍රදේශයේ රජකම් කළ චූලෝදර නා රජුත් නෑකමින් මාමා සහ බෑනා ය. මැණික් පුටුවක අයිතිය පිළිබඳව ඔවුන් අතර ගැටුමක් ඇති විය.

මෙහි දී කැලණිය ප්‍රදේශයේ රජකම් කළ මණිඅක්ඛික නා රජු ද මහෝදර නා රජුට උදවු වීම සඳහා නාගදීපයට ගොස් ඇත. විශාල යුද්ධයක් සිදු වීමට ඉඩ තිබූ මෙම අවස්ථාවේ බුදුරජාණන්

වහන්සේ නාගදීපයට වැඩම කර නා රජවරුන් ඇතුළු පිරිසට ධර්මය දේශනා කළ සේක. ඔවුහු බුදු දහම අසා ගැටුම් අත හැර දැමූහ.

මහෝදර නා රජු සහ චූලෝදර නා රජු ඇතුළු පිරිස බුලත් කොළය බැගින් බුදුරජාණන් වහන්සේට පිළිගන්වා සමගි වූ බව ජනප්‍රවාදයේ සඳහන් වේ.

නා රජවරුන් අතර ගැටුමට මුල් වූ මැණික් පුටුව ඔවුහු බුදුරජාණන් වහන්සේට පූජා කළහ. එහි වැඩ සිට එය පූජා වස්තුවක් බවට පත් කළ බුදුරජාණන් වහන්සේ එය ඔවුන්ට ම පැවරූහ.

බුදුරජාණන් වහන්සේ පරිහරණය කළ නිසා පූජනීය වස්තුවක් වූ එම මැණික් පුටුව නිදන් කොට නාගදීප චෛත්‍යය සාදවා ඇත. කිරිපලු රුකක් ද එම ස්ථානයේ තිබූ නිසා මෙම සෑය රාජායතන චෛත්‍යය නමින් ද ප්‍රසිද්ධ විය. මෙය ලංකාවේ ප්‍රධාන සිද්ධස්ථාන දහසයෙන් එකකි.

දේවානම් පියතිස්ස රජ වැනි රජවරුන් නාගදීප චෛත්‍යය වැඳ පුදා ගත් බව ඉතිහාසයේ සඳහන් වේ. පෙර රජදරුවන් කළාක් මෙන් මෙම පූජනීය ස්ථානය ආරක්ෂා කිරීම අපගේ ද යුතුකමකි.

බුදු පා පහසින් පූජනීය වූ නාගදීප චෛත්‍යය වන්දනාමාන කර අපිත් පින් රැස් කර ගනිමු.

## ක්‍රියාකාරකම

**පිළිතුරු ලියන්න.**

1. බුදුරජාණන් වහන්සේ නාගදීපයට වැඩියේ ලංකාවට වැඩම කළ කී වැනි වාරයේ දී ද?
2. එසේ වැඩම කළේ කුමන මාසයේ ද?
3. එදින නාගදීපයේ සිදු වීමට තිබූ අරගලය කුමක් ද?
4. ගැටුමට මුල් වූ මැණික් පුටුවට කළේ කුමක් ද?

# 31 ශ්‍රී පාද ස්ථානය



බුදුරජාණන් වහන්සේ බුද්ධත්වයෙන් අට වන වර්ෂයේ දී ලක්දිව කැලණිය ප්‍රදේශයට වැඩි සේක. එසේ වැඩම කළේ මණිඅක්ඛික නා රජුගේ ආරාධනයෙනි. උන්වහන්සේ අපේ රටට වැඩම කළ තෙවන අවස්ථාව එයයි.

මෙම අවස්ථාවට සහභාගි වී සිටි සුමන සමන් දෙවි තමන් සිටින සමන් ගිරට වඩින ලෙස බුදුරජාණන් වහන්සේට ආරාධනා කළේ ය.

බුදුරජාණන් වහන්සේ සුමන සමන් දෙවියන්ගේ ආරාධනාව පිළිගත් සේක. උන්වහන්සේ සමන් ගිරට වැඩම කර මඟුල් ලකුණු එකසිය අටක් සහිත තමන් වහන්සේගේ වම් සිරිපා සටහන කඳු මුදුනෙහි ගල මත පිහිටුවූ සේක. එතැන් සිට සමන් ගිර ශ්‍රී පාද කන්ද නමින් හඳුන්වා ඇත. මෙය අපේ රටේ ප්‍රධාන සිද්ධස්ථාන දහසයෙන් එකකි.

කාලයත් සමග කැලෑවෙන් වැසී ගිය ශ්‍රී පාද ස්ථානය පසු කලෙක නිශ්ශංකමල්ල රජු විසින් සොයා වැඳ පුදා ගත් බව ඉතිහාසයේ සඳහන් වේ.

සිරිපා වන්දනා වාරය ආරම්භ වන්නේ උඳුවප් මාසයේ පසළොස්වක පොහොය දින සිට ය. වෙසක් මාසයේ පසළොස්වක පොහොය දින වන විට එම වන්දනා වාරය අවසන් වේ. අනෙක් කාලය අවාරය ලෙසින් හැඳින්වේ.

පළමුවෙන් සිරිපා වන්දනා කරන සැදැහැවතුන් හඳුන්වනු ලබන්නේ 'කිරිකෝඩු' නමිනි. එම ගමනේ දී ගෙන යන බඩුබාහිරාදිය 'සැහැල්ලුව' නමින් හැඳින්වේ. වන්දනා නඩයට නායකත්වය දෙන 'නඩේ ගුරා' සහ කිරිකෝඩු සහිත 'වන්දනා නඩය' සිරිපා කරුණා කරන්නේ බුදු ගුණ ගයමිනි.

**බුද්ධං සරණේ සිරස දරා ගෙන**
**ධම්මං සරණේ සිත පහදා ගෙන**
**සංඝං සරණේ සිවුරු දරා ගෙන**
**ඉඤ්ඤැයි තුන් සරණේ අදහා ගෙන**

ශ්‍රද්ධාවෙන් සිරිපා වන්දනා කරන සැදැහැත්තෝ සමන් ගිර ආරක්ෂා කරන සුමන සමන් දෙවියන් ද සිහිපත් කරති.

**වඳින්න යන මේ නඩේට සුමන සමන් දෙවි පිහිටයි**
**වැඳල බහින මේ නඩේට සුමන සමන් දෙවි පිහිටයි**

අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී පාද පද්මය සහිත මෙම පූජනීය ස්ථානය ආරක්ෂා කළ යුතු වෙමු. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී පාද පද්මය අන්‍යාගමිකයෝ ද වැඳ පුදා ගනිති.

## පුහුණුවට



**යං නම්මදාය නදියා පුලිනේව තීරේ**
**යං සච්ච බද්ධ ගිරිකේ සුමනා චලග්ගේ,**
**යං තත්ථ යෝනක පුරේ මුනිනෝච පාදං**
**තං පාද ලාංඡන මහං සිරසා නමාමි.**

නර්මදා ගං වැලිතලාවේ ද, සච්චබද්ධ පර්වතයේ ද, සමනල පර්වතයේ ද, යෝනක පුරයෙහි ද පිහිටා තිබෙන ශ්‍රී පාදය මම නමස්කාර කරමි.

# 32 කතරගම කිරි වෙහෙර



බුදු සිරිපා පහස ලැබූ ලක්දිව බෞද්ධ පූජනීය ස්ථාන රාශියක් ඇත. ඒවා අතර පූජනීය ස්ථාන දහසයක් සොළොස්මස්ථාන නමින් හැඳින්වේ. කාචරගාම හෙවත් කතරගම ද බෞද්ධයන්ගේ වැඳුම් පිදුම්වලට ලක් වන එවැනි එක් පුදබිමකි.

බුදුරජාණන් වහන්සේ බුද්ධත්වයෙන් අටවන වර්ෂයේ දී තෙවැනි වරට ලංකාවට වැඩි සේක. එසේ වැඩම කළේ කැලණියට ය. කැලණියේ පාලකයා වූ මණිඅක්ඛික නා රජු ඇතුළු පිරිසට ධර්මය දේශනා කළ බුදුරජාණන් වහන්සේ කතරගමටත් වැඩි සේක.

ශාක්‍ය වංශයේ මහසෙන් රජ එකල කාචරගාමයේ පාලකයා විය. බුදුරජාණන් වහන්සේ රජු ඇතුළු පිරිසට ධර්මය දේශනා කළ සේක.

සංඝමිත්තා රහත් මෙහෙණින් වහන්සේ අනුරාධපුරයට වැඩමවා ගෙන ආ ශ්‍රී මහා බෝධීන් වහන්සේ මහමෙවුනාවේ රෝපණය කරන ලදි. ඉන් හට ගත් අෂ්ටඵල රුහ බෝධීන් වහන්සේ නමක් කතරගම පුණ්‍ය භූමියේ රෝපණය කොට ඇත.

මහසෙන් රජු විසින් මෙම පුණ්‍ය භූමියෙහි කරවන ලද සෑය මංගල මහා චෛත්‍යය හෙවත් කිරි වෙහෙරයි.

අෂ්ටඵල රුහ බෝධීන් වහන්සේ ද, කිරි වෙහෙර ද, රුහුණු මහා කතරගම දේවාලය ද, කතරගම පූජා භූමියට අයත් වේ.

බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී පාද ස්පර්ශය ලත් කතරගම පුණ්‍ය භූමියේ පිහිටි කිරි වෙහෙර අපි සැදැහැ සිතින් වන්දනා කරමු.

## පුහුණුවට



කිරි සුදු පැහැයෙන් බැබළෙන්නේ
මංගල මහ සෑ රජිඳුන්නේ
සුවඳ මලින් ඔබ පුදමින්නේ
බුදු ගුණ සිහිකර නමදින්නේ

සඳ රැස් දහරින් නැහැවෙන්නේ
කිරි වෙහෙරින් රැස් විහිදෙන්නේ
දැල්වූ පහනින් අදමින්නේ
බුදු හිමි සිහිකර නමදින්නේ